සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ වෙසක් මස (ව්‍යවහාරික වර්ෂ 2019 මැයි)

93 වෙනි කලාපය

## දිවැස් ලැබෙන පහන් පූජාව

ඇතුළු මහත් ආනිසංස ගෙනෙන සාසනික පින්කම්...






රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# මෙත් සිත පතුරමු...

බුදු හිමි දෙසුව සිරි සදහම අසම  සමයි
භව බැමි නසනු හැකි මග එම දහම  තමයි
දුක නිමි එපරිදිම රුදු ගොර සසර  නිමයි
අදැහැමි අයට වටහනු බැරි අමන  කමයි

සව් සත ලොවේ ගරු කළ යුතු බොදු  විනය
සිව් බඹ විහරණාදී යහ ගුණ  ගැනය
පව් හළ යුතුය දැන අරහං බුදු  ගුණය
භව් හරණය අපට බුදු හිමි දෙසු  බණය

පස් පව පිළිබඳව එහි ඇති ගැඹුර  ගැන
හිස් බව මෙන්ම ඉන් සිදුවන අවැඩ  දැන
විස් කම දනුව නිති පන්සිල් රකින  දන
රැස් කර ගනිති මෙත් ඇ මහ බඹුගෙ  ගුණ

සතුරට පවා මෙත පතුරනු බුදු  වදනයි
ගුණයට එම හුරුව ඇති බොදු දන  විරලයි
සත හට පිහිට එම බුදු ඔවදන  පමණයි
දහමට අනුව අරමුණු විය යුතු  නිවනයි

රුදු සිත නිති පවති අන් අය නසන  උපා
සිදු වන වැරදි සුදුසුද හිමි අයට  දෙපා
බොදු නාමයට ගරහනු කිසි විටෙක  එපා
විඳුමට නිසැක සිදු වෙයි දුක සතර  අපා

සිරි සදහම තිරව මුල් ඇද බැඳුන  රටේ
හරි බොදුනුවො කවුද රට දුසිරිතෙහි  වැටේ
පිරිසද දෙකඩ වෙති මත එකිනෙකට  ගැටේ
බැරි කිම සමගි වෙනු සැම රට සතර  වටේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

08

පසුගිය කලාපයෙන් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය ගැන තමයි විශේෂයෙන් විස්තර කළේ. මේ ලිපියෙන් විස්තර කරන්නෙ දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය හෙවත් හැමෝම දන්න සම්මත භාෂාවෙන් කියනව නම් දුක නැති කිරීම, දුක නිරෝධ කිරීම ගැන.

එහෙනම් දුක නිරෝධ කළොත් මොකද වෙන්නෙ? රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි, ජාති ගිනි, ජරා ගිනි, ව්‍යාධි ගිනි, මරණ ගිනි, ශෝක ගිනි, පරිදේව ගිනි... ඔය ආදී වශයෙන් ගිනි හටගෙන තිබුනද, මේ සෑම ගින්නක්ම ඉවර වෙනවා, කෙළවර වෙනවා. එහෙනම් දුක අයින් කරන්න නම්, අසහනකාරීත්වයෙන් මිදෙන්න නම්, දුක දුක හැටියට දකින්න ඕන. ඒ වගේම ඒකෙ තියෙන දාහ ස්වභාවය දැකගන්න ඕන. ඒක දැක්ක නම් දුකෙන් මිදෙන්න ඕන කියල අදහසක් එනවා. එතකොට යම් කිසි දෙයක් තණ්හාවෙන් අල්ලා ගැනීමක් ඇත්ද, ඒක දුකට හේතුවයි කියල දකින්න පටන් ගන්නවා. එතෙක් තිබුනා වූ දාහයන්ගෙන් මිදිල ගිහින් රාග ගිනි නිවුන නම්, ද්වේශ ගිනි නිවුන නම්, මෝහ ගිනි නිවුන නම්, අන්න එතැන සිසිලසක් සැනසීමක් ඇති වෙනවා. ඒක ශාන්තයි, ප්‍රණීතයි. ඒ අවස්ථාව උදා කරගත්ත නම් දුක්ඛ නිරෝධයට පත්වුනා කියල කියනවා.

එහෙනම් මේ දුක්ඛ නිරෝධය කියන්නෙ මෙලොවදීම කරගන්න දෙයක් මිසක් මැරිල ගිහින් කරගන්න දෙයක් නෙවෙයි. **මේ ජීවත් වෙලා ඉන්න කාලය තුලම යථා දහම් අවබෝධ කරල, ඒ ධර්මානුධර්ම ප්‍රතිපත්තිය අනුගමනය කරල පූර්ණ කරල ඒ තුලින් ලබන්නා වූ ශාන්ත වූ ප්‍රණීත වූ සැනසුමක් තමයි නිවන් සුව කියන්නෙ.** හොඳින් තේරුම් අරගෙන මෙලොවදී ලැබිය යුතු ඒ නිවන් සුව අත්පත් කර ගන්නව නම් දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය අත්පත් කරගත්ත වෙනවා.

දැන් මෙතැනදි දැනගන්න ඕන විශේෂ දෙයක් තියෙනවා. මේ කියන්නා වූ දුක් නිරෝධ කරගන්න මාර්ගය අපි හරියට දන්නවද? දුක්ඛ නිරෝධ මාර්ගය මොකක්ද? දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා මාර්ගය මොකක්ද? බොහෝ දෙනෙක් කියයි ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියල. මොකද ඒක හැමෝම අහල තියෙනවා. නමුත් මේ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව කියන ආර්ය අෂ්ඨාංගික මාර්ගය මොකක්ද? ඒක තෝරගෙනද තියෙන්නෙ? මාර්ගය තෝරා ගත්ත නම් නැවත ගුරුවරයෙක් අවශ්‍ය නෑ ආර්ය මාර්ගය දැනගන්න. පරප්‍රත්‍ය රහිතයි. නැත්නම් අනුන්ගෙ ආධාරයක් නැතිව දහම් මග පූර්ණ කරගන්න පුළුවන් තත්වයට පත් වෙනවා.

එහෙනම් චතුරාර්ය සත්‍ය ධර්මයන්ගෙන් අපිට අවශ්‍ය මූලික දහම් අවබෝධය ලබා ගත්තට පස්සෙ ධර්මානුධර්ම ප්‍රතිපත්තියට බහින්න තියෙන උතුම්ම අවස්ථාව තමයි ආර්ය අෂ්ඨාංගික මාර්ගය. ඒ කාරණය මනා අවධානයකින් යුක්තව විග්‍රහ කරල තේරුම් ගන්න ඕන. මේ වෙනකොට අපි අහල තියෙනවා සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියල අංග 8 ක්. නමුත් මේකෙ නියම වචනය හංග 8 ක්. මේ 8 ට තවත් 2 ක් එකතු වෙලා සම්මා ඥාන, සම්මා විමුක්ති 2 ත් ආව නම්, දස හංගේහි සමන්නාගතෝ අරහං කියල, හංග 10 කින් සම්පූර්ණ වුනා නම් අරිහතුන් වහන්සේ කියල ඔය ආකාරයෙන් පෙන්වනවා. මේ පෙන්වන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය. ආර්ය (අරිය) වූ හෙවත් මේ සසර ගමන නැවැත්වීමට හේතු වන්නා වූ හංග 8 ක් තියෙනවා. ඒ තමයි අපි ළඟ තියෙන කෙළෙස්, එහෙම නැත්නම් සසරට බැඳල තියෙන දස සංයෝජන ධර්ම හංගල දාන මාර්ග, ඒවා අවිද්‍යාමාන කරන මාර්ග.

දැන් අපි කියනවා, නිවන් දකින්න එකම ආර්ය අෂ්ඨාංගික මාර්ගයයි කියල. එතකොට තවත් එකක් තියෙනවද? ලෝක පැවැත්මට තවත් ආර්ය අෂ්ඨාංගික මාර්ගයක් තියෙනවයි කිව්වොත්, එහෙම එකක් අද ඉන්න පිරිස නම් බොහෝ කොටම අහල නෑ. නමුත් බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා, ලෞකික වූ, කෙළෙස් සහිත වූ, සුගතියට හේතු වෙන ආර්ය අෂ්ඨාංගික මාර්ගයක් සහ ලෝකෝත්තර වූ නිවනට හේතු වෙන ආර්ය



අෂ්ඨාංගික මාර්ගයක් තියෙනව කියල. නමුත් බහුතරයක් දෙනා මේ වෙනකොට එහෙම ආර්ය අෂ්ඨාංගික මාර්ග දෙකක් ගැන අහල නෑ. ආර්ය අෂ්ඨාංගික මාර්ගයෙන් කියන්නෙ නිවන් දකින්න කියලයි අපි නම් අහල තියෙන්නෙ කියල එක පාරටම කැළඹීමක් ඇතිවෙන්න පුළුවන්. හැබැයි **බුදුන් වහන්සේ ලෝකයට පහල වෙන්න පෙරත් ආර්ය අෂ්ඨාංගික මාර්ගයක් තිබුන කියල තේරුම් ගන්න ඕන. නමුත් ඒක ලෞකිකයි, කෙළෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා.**

එතකොට බුදුන් වහන්සේ දේශනා කරනවා, එහෙම ආර්ය අෂ්ඨාංගික මාර්ගයක් සහිත දේශනාවක් තිබුනා, නමුත් මා විසින් ලෝකයාට නිවන් අවබෝධ කරගන්න පෙන්වපු ආර්ය අෂ්ඨාංගික මාර්ගය නම් ඒක නෙවෙයි, මෙන්න මේකයි නිවන් දකින්න හේතු වෙන ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියල. මෙන්න මේ කාරණය සූත්‍ර පිටකයේ මජ්ජිම නිකායට අයත් මහා චත්තාරීසක සූත්‍රයේ පැහැදිලිව දේශනා කරල තියෙනවා. අන්න ඒ ටික තේරුම් ගත්ත නම් තමයි බොදුනුවෙක් හැටියට, ඥානවන්තයෙක් හැටියට වැදගත්කමක්, වටිනාකමක් තියෙන්නෙ. මොකද නිවීමට සැනසීමට තියෙන, විමුක්තියට තියෙන ඒ මාර්ගය අපි දැනගෙන හිටියෙ නැත්නම් කොහොමද නිවන් දකින්නෙ? මාර්ගය දන්නෙ නැත්නම් කොහොමද ඵලයක් ලබා ගන්නෙ? එහෙනම් ඒ සූත්‍ර දේශනාවෙන් විග්‍රහ කරල දෙන මාර්ගය මොකක්ද, සම්මා දිට්ඨිය මොකක්ද කියල විග්‍රහ කරල දැනගන්න ඕන.

මේ කාලෙ වෙනකොට සම්මා දිට්ඨිය කියන කාරණය වැහිල ගිහින්, නොයෙක් ආකාරයේ අදහස් අරගෙන මිච්ඡා දිට්ඨි වැහි වැහැල. මේ විදිහට කළොත් මිච්ඡා දෘෂ්ටිකයි, බෞද්ධයෙක් නෙවෙයි... ආදී වශයෙන් අද හැම එකකටම මේ වචනය පාවිච්චි කරනවා. නමුත් බෞද්ධත්වයට සම්බන්ධ නොවෙන මිච්ඡා දිට්ඨියට වැටෙන්න නම් කාරණා 10 යි පෙන්වා තියෙන්නෙ. එයින් එහා මිච්ඡා දිට්ඨි ගැන කතා කරනව නම් මිච්ඡා දිට්ඨි හඳුනගෙන නෑ. මිත්‍යා දෘෂ්ටිවලට අහු නොවෙන අවිද්‍යාවේ දෘෂ්ටීන්ටත් මිත්‍යා දෘෂ්ටි කියන්න අද පුරුදු වෙලා තියෙනවා. නමුත් ඒ දෘෂ්ටි නිසා සසර ගමනක් හැදෙනව මිසක් ඒ නිසාම කෙනෙක් සතර අපාගත කරන්නෙ නෑ. ඒකෙන් දිව්‍ය, බ්‍රහ්ම ලෝකවල උපදින්නත් පුළුවන්. හැබැයි මිත්‍යා දෘෂ්ටිය කියන එක අටමහා නරකයේ, ලෝකාන්තරික නරකයේ, සතර අපායේ උපදින්නයි හේතු වෙන්නෙ. මෙන්න මේ කාරණය තේරුම් ගන්න ඕන.

ලෝක සත්වයා සසර පැවැත්මෙදි නොයෙක් නොයෙක් දේවල් කරනවා. අන්‍යොන්‍ය ආධාර උපකාර ලබා ගන්නවා. ලෞකික වශයෙන් යහපත් වන්නා වූ දේවල් කරනවා. අන්න ඒ කරන වැඩපිළිවෙල ලෝක සත්වයා මේ පැවැත්ම ගෙනියන්න කරන වැඩපිළිවෙලක් නිසා අවිද්‍යා සහගත දෘෂ්ටි මිසක් මිත්‍යා දෘෂ්ටි නෙවෙයි. අවිද්‍යාවේ වැඩපිළිවෙල කවදහරි කෙළවර වෙන්නෙ නිවන් අවබෝධය පූර්ණ කරල අරිහත්වයට පත් වුනාම. සෝතාපන්න ඵලයට පත්වෙනකොට එතෙක් දරපු දස වස්තුක මිත්‍යා දෘෂ්ටියක් තිබුන නම් ඒක දුරු වෙනවා. එහෙනම් මහා චත්තාරීසක සූත්‍ර දේශනාවේ හැටියට, සම්මා දිට්ඨියත්, මිච්ඡා දිට්ඨියත් කියන මේ 2 ක්‍රියාත්මක වෙන ආකාරය දැනගන්න ඕන.

දැන් මේ සම්මා දිට්ඨි / දෘෂ්ටි කියන පදයට අපි මෙච්චර කාලයක් ගත්ත අර්ථය මොකක්ද? යහපත් දැකීම, හරි දැකීම, නිවැරදි දැකීම. ඔන්න ඔය සිංහල අර්ථ 3 තමයි අරගත්තෙ. ඔය වචන තුන සාමාන්‍ය ලෝකයා අතර භාවිතාවේ තියෙන වචන 3 ක්. දැන් එතකොට මේ වචන 3 තේරුම් ගත්තෙ කොහොමද? මේ වචන 3 කියනකොට ලෝක සත්වයාට එන අදහසක් තියෙනව නම්, මේ ලෞකිකත්වය තුලම තියෙන අදහසක් මිසක් ලෝකෝත්තර ධර්ම ඥානයෙන් පහල වෙන අදහසක් නෙවෙයි. නිවැරදි දැක්ම කියන්නෙ මෙන්න මේවා, හරි දැක්ම කියන්නෙ මෙන්න මේවා, යහපත් දැක්ම කියන්නෙ මෙන්න මේවා කියල, සමාජයේ තිබෙන්නා වූ සුචරිතය වගේ යම් කිසි සීමා වෙච්ච මට්ටමකට තියා ගත්ත ඉතාම සුළු ලෞකික මට්ටමක නිවැරදි බවක්, යහපත් බවක්, හරි බවක් වැටහෙන දහම් කොටසක් තියෙනවා. අන්න ඒවා දකින දැකීම සම්මා දිට්ඨියයි කියල අදහස් ගත්තට, ආර්ය ධර්මය අවබෝධ කරවන සම්මා දිට්ඨියට බහින්න ඒ අදහස ප්‍රමාණවත් නෑ. ඒකෙන් ආර්ය අදහස සම්පූර්ණ වෙලා වැටහෙන්නෙ නෑ. ලෝකෝත්තර අදහස වැටහෙන්නෙ නෑ. ලෝකෝත්තර අදහස වැටහෙන්න නම් ඔය පදයේ නිරුක්තිය ගන්න ඕන. සම්මා කියන වචනයෙන් පෙන්නුවෙ මොකක්ද කියල බලන්න ඕන.

එහෙනම් මෙතැන අර්ථ 2 ක් තියෙනවා. යහපත්, නිවැරදි, හරි කියන වචන සම්මා කියල ගත්තෙ ලෝක සම්මත ලෞකික අර්ථයෙන්. අන්න ඒ අර්ථය තමයි ඔය ලෞකික ආර්ය අෂ්ඨාංගික මාර්ගයෙන් කියන්නෙ. ඒක අපි කලිනුත් දැනගෙන තියෙනවා. හැබැයි අපිට චතුරාර්ය සත්‍යය අවබෝධ වුනේ නෑ. මොකද ඒක ලෞකික නිසා. එහෙනම් ලෝකෝත්තර මාර්ගය කොහොමද හොයා ගන්නෙ? ඒකට තමයි පද නිරුක්තිය අවශ්‍ය. එහෙම නැත්නම් ඒකෙ ලෝකෝත්තර අර්ථය සමාජ ව්‍යවහාරයේ තියෙන්න ඕන. නමුත් මේ වෙනකොට එහෙම අර්ථයක් දකින්න නැති නිසා පද නිරුක්තියෙන් දැනගන්න වෙනවා.

"සං" කියල එකතුවක් තියෙනවා. සම්බන්ධ, සංයෝග, සංඛාර... ආදී වශයෙන් මේ කාරණය මීට පෙරත් විග්‍රහ කරල තියෙන නිසා නැවත කියන්න අවශ්‍ය නෑ. අපි මේ ලෝකයේ අවිද්‍යාව සහ තෘෂ්ණාව නිසා පංච කාමයෙන් යුක්ත වෙලා යම් කිසි එකතුවක් හදාගන්නවා. එකතුව තමයි "සං" කියන්නෙ. අන්න ඒ කොටස අරගෙන සාර කර කර යනවා. සං සාරයි කියල නිගමනය කරගෙන, සාරත්වයෙන් යුක්තව අදහස් අරගෙන, සාරයි කියල හිතාගෙන, සංසාරයක් හදාගෙන, සාර දේවල් කරන්න ඕන කියන නිගමනයක් අරගෙන, ඊට අනුකූලව කටයුතු කරල සංඛාර කරගන්නවා. ඒ විදිහට සංඛාර කර කර යන තාක් කල් සසර ගමනේ අනාථ තත්වයෙන් මිදෙන්න පුළුවන්කමක් නෑ. දුකෙන් මිදෙන්න බෑ.

එහෙනම් දුකෙන් මිදෙන්න නම් මොකක්ද කරන්න ඕන? මේ "සං" කියන එකතුවෙන් මිදෙන්න ඕන. ඒ එකතුව "මා" කරල දමන්න ඕන. "මා" කියන්නෙ මිදෙන අර්ථය. **මා හෝතු ජාති ජාති නං – ජාති ජාතිවත් හේතු නොවේවා, මා මේ බාල සමාගමෝ – මට බාල සමාගමයක් නොවේවා, මා තක්ක හේතු – තර්කයෙන් කිව්ව පළියට පිළිනොගන්න, මා නය හේතු – න්‍යාය ධර්මයකට ගැලපුන පළියට පිළිනොගන්න, මා අනුස්සවේන – ඇසුව තරමින් පිළිනොගන්න, මා පරම්පරාය – පරම්පරාවෙන් ආ පමණින් පිළිනොගන්න, මා ඉතිකිරාය – මෙය මෙසේ වෙන්න පුළුවන් කියූ පමණින් පිළිනොගන්න, මා පිටක සම්පදානේන – පොත්පත්වල තිබූ පමණින් පිළිනොගන්න, මා ආකාර පරිවිතක්කේන – මේ ආකාර යැයි කියා කල්පනාවට ආ පමණින්**



**පිළිනොගන්න, මා දිට්ඨී නිජ්ජාන බන්තියා - දෘෂ්ටියට අනුකූල වූ පමණින් පිළිනොගන්න, මා බබ්බ රූපතාය - අහවල් විශේෂ කෙනා කියූ නිසා යැයි ඒ පමණින් පිළිනොගන්න, මා සමණෝ නෝ ගරූති - මේ ශ්‍රමණයා මාගේ ගුරුවරයා නිසා යැයි ඔහු කියූ පමණින් පිළිනොගන්න...** ඔය ආදී වශයෙන් “මා” කියන පදයෙන් පෙන්වන්නෙ, එයින් නොගන්නවා, නොවේවා, මිදෙනවා, මිදේවා, ඉවත් වෙනවා... ආදී වශයෙන් කියන අර්ථය. එහෙනම් මොකෙන්ද මිදෙන්නෙ? “සං” කියන්නා වූ මේ පංචකාම සම්පත් සහිත වන්නා වූ ලෝකය සමග තියෙන එකතුවෙන් යම් මිදීමක් සිද්ධ වෙනවද, ඒකට කියනවා “සං මා” කියල. එතකොට “සං” කියන එකතුවෙන් මිදීමට යමක් දැකිය යුතුද අන්න ඒකට කියනවා සම්මා දිට්ඨී කියල. **මේ කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන තුන් ලෝකයේ සසර ගමනෙදී “සං” කියල එකතු කරගෙන යන වැඩපිළිවෙලින් මිදීම සඳහා යමක් දැකිය යුතුද, අන්න ඒක තමයි ආර්යන් විසින් දැකිය යුතු සම්මා දිට්ඨීය.**

දැන් වැටහෙනවා, යහපත් දැකීම, හරි දැකීම, නිවැරදි දැකීම කියන වචන ඉක්මවල, ධර්මාවබෝධයට හේතු වන්නා වූ දහම තුල කිඳා බැහැල තමයි සම්මා දිට්ඨී කියන වචනයේ අර්ථය තෝර ගත්තෙ කියන කාරණය. හැබැයි මේ කාරණය මේ කාලයේ අහන්න ලැබෙනව බොහොම අඩු නිසා, කෙනෙකුට එක පාරටම මේ කෙබඳු දහමක්ද කියල තේරුම් ගන්න බැරිවෙන්න පුළුවන්. නමුත් ටිකෙන් ටික හිතල බලල අහල විමසල හරියාකාරව ඇත්ත දැනගන්න පුළුවන් වෙයි.

එහෙනම් මේ එකින් එක මාර්ග හංගය මහා චත්තාරීසක සූත්‍ර දේශනාවේ ආකාරයට විග්‍රහ කරල දැනගන්න ඕන. සම්මා දිට්ඨීය කියන මාර්ග හංගය අහගත්තට පස්සෙ, දැනගත්තට පස්සෙ, සම්මා දිට්ඨීයට පත්වෙන හැටි ගුරුවරයෙක් නැතිව දැනගන්නවා. සම්මා දිට්ඨීය තේරුම් ගන්නවා. මිච්ඡා දිට්ඨීය තේරුම් ගන්නවා. සම්මා දිට්ඨීයට පත්වෙලා කොහොමද මම මේ තත්වය ලබා ගන්නෙ, සම්මා දිට්ඨීය කී ආකාරද, දෙයාකාර වෙන්නෙ කොහොමද?... මේ ආදී කාරණා සම්මා දිට්ඨීය කියන මාර්ග හංගය තුලින් සැක නැතිව වටහා ගත්ත කෙනෙක් වෙනවා.

සම්මා දිට්ඨීය සම්මා දිට්ඨීය සේ දැනගනී, මිච්ඡා දිට්ඨීය මිච්ඡා දිට්ඨීය සේ දැනගනී, සම්මා දිට්ඨීය දෙයාකාරයි කියා දැනගනී, එකක් ලෞකිකයි, කෙළෙස් සහිතයි, සුගතියට, සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා කියන මෙන්න මේ කාරණා ටික දැනගන්න ඕන. ඊට පස්සෙ ඒ ගැන කාගෙන්වත් අහන්න දෙයක් නෑ. පළවෙනි පදය හරියට තෝර ගත්තොත් පළමු වැනි මාර්ග හංගය තෝර ගත්තා වෙනවා. එහෙනම් අපිට ඕන විදිහට තෝරලත් බෑ. ධර්මානුකූලවත් තේරුම් ගන්න ඕන. ඒක හරියාකාරව දහම් සිද්ධාන්තයක් අනුවයි විග්‍රහ වෙන්නෙ. ඒ නිසයි අපි ඒක හරියි කියල තේරුම් ගන්නෙ.

මෙන්න මේ ටික තේරුම් ගන්නකොට මිත්‍යා දෘෂ්ටිය කියල පෙන්වා තියෙන නත්ථි දින්නං, නත්ථි යිට්ඨං, නත්ථි හුතං, නත්ථි සුඛට දුක්ඛඨානං කම්මානං ඵලං විපාකෝ, නත්ථි මාතා, නත්ථි පිතා, නත්ථි සත්තානං ඕපපාතිකා, නත්ථි අයං ලෝකෝ, නත්ථි පරෝ ලෝකෝ, නත්ථි ලෝකේ සමණ බ්‍රාහ්මණා... මේ ආදී වශයෙන් විග්‍රහ කරල තියෙන දස වස්තුක මිත්‍යා දෘෂ්ටිය තේරුම් ගන්නවා. එහෙනම් මේකෙන් මොකක්ද පෙන්වන්නෙ?

දන් දුන්නට වැඩක් නෑ, ඒවායේ විපාක නෑ. බාරහාර ගැනීම්, ඉටු කිරීම් ඕවා මොන බොරුද? ඉෂ්ට කිරීම් කොහෙද තියෙන්නෙ? විශේෂයෙන් සකස් කරල ගෙනත් කරන පූජා, වෙන් කරල හදන අග්‍ර සස්‍ය පූජා ආදියේ විපාක නෑ. ඕව බොරු කතා. කරන කර්මවලට සැප දුක් කියන්නා වූ ඵල විපාක නෑ. හොඳ දේවල්, යහපත් දේවල් කළා කියල සැප විපාක, යහපත් විපාක නෑ. අයහපත් දේවල් කළා කියල අයහපත් විපාක නෑ. පිං පව් කියල දෙයක් නෑ. මෙලොව, පරලොව ගමනක් පිළිබඳව අපි පිළිගන්නෙ නෑ. එහෙම දෙයක් නෑ. මව, පියා කියල විශේෂ පුද්ගලයො නෑ. මෙලොව ඕපපාතිකව උපදින්නාවූ අපිට පේන්නෙ නැති නොයෙක් සියුම් භූතයො, පෙරේතයො, සත්වයො පිළි ගන්නෙ නෑ. දිවැස්, දිවකන් ඇතිව ලෝකය යථා නුවණින් දැකල, ඒ වගේ ඥාන පහල කරගෙන ලෝකය යථා ආකාරයෙන් පෙන්වන මහණ බමුණන් ඉන්නවා කියල පිළිගන්නෙ නෑ.

මෙන්න මේ ආකාරයේ දස වස්තුක මිත්‍යා දෘෂ්ටියක් දහමෙ විග්‍රහ වෙනවා. මේ වගේ අදහස් ගන්නව නම් ඒක මිත්‍යා දෘෂ්ටිය හැටියට දැනගන්නවා. එයින් එහාට එකොළොස් මිත්‍යා දෘෂ්ටියක් නෑ. නමුත් මේ මේ දේවල් කළොත් මිත්‍යා දෘෂ්ටි වෙනව කියල රවට්ටන අය අද හුගක් ඉන්නවා. අහවල් පූජාව කළොත් ඒකා මිත්‍යා දෘෂ්ටිකයෙක්, ඒකා බෞද්ධයෙක් නෙවෙයි... මේ ආකාරයේ දෙන අදහස්වලින් ප්‍රවේසම් වෙලා දස වස්තුක මිත්‍යා දෘෂ්ටිය හොඳින් තේරුම් ගන්න ඕන. ඔය මිත්‍යා දෘෂ්ටිය බිඳීම තමයි ඉස්සෙල්ලම දැනගන්න ඕන.

ඊළඟට සම්මා දිට්ඨීය දෙයාකාරයි කියල ඒ ගැන දැනගන්නවා. එහෙනම් ලෞකික වූ කෙළෙස් සහිත වූ සුගතියට, සසර ගමනට හේතු වෙන සම්මා දිට්ඨීය මොකක්ද? අර ඉස්සර වෙලා කිව්ව මිත්‍යා දෘෂ්ටි දහයෙම අනික් පැත්ත.

**දානෙ විපාක ආනිසංස තියෙනවා කියල විස්වාස කරනවා. යුතුකම් ඉෂ්ට කිරීම්, ඉෂ්ට දේවතාවුන් පිදීම්... ආදී වශයෙන් කරන්නා වූ දේවල්වල යහපතක් තියෙනවා. ඒවා සුගති වැඩ, හොඳ වැඩ කියල පිළිගන්නවා. පූජාවල විපාක තියෙනවා. කරන කර්මවල සැප දුක් විපාක තියෙනවා. පින් පව් කියල දෙයක් තියෙනවා. ඒවායේ**

**විපාක තියෙනවා. මරණින් මතු උපතක් තියෙනවා. මෙලොව පරලොව කරපු දේවල්වල විපාක තියෙනවා. මව්, පිය කියල විශේෂ ගුණවතුන් ඉන්නවා. ඒ අයට ඇප උපස්ථාන කිරීමෙන් යහපතක් ලැබෙනවා. මෙලොව ඕපපාතිකව උපදින්නා වූ මස් ලේ ඇහැට නොපෙනෙන සත්වයින් ඉන්නවා. මෙලොව, පරලොව සත්‍යය යථාර්ථය දැනගෙන යහපත පෙන්වන මහණ බමුණො ඉන්නවා. ඒවා පිළිගන්න හේතු තියෙනවා.**

**මෙන්න මේ කාරණා ටික දැනගත්ත කෙනාට ලෞකික වූ සම්මා දිට්ඨියක් තියෙනවා. හැබැයි ඒක නිවන් දකින්න මදි.** එහෙනම් මුලින් විග්‍රහ කරපු චතුරාර්ය සත්‍යය පිළිබඳව දකින්නා වූ නුවණක් තියෙනවා. දුක්ඛේ ඤානං, දුක්ඛ සමුදයේ ඤානං, දුක්ඛ නිරෝධයේ ඤානං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාය ඤානං අයං වුච්චති භික්ඛවේ සම්මා දිට්ඨි කියල පෙන්වපු සම්මා දිට්ඨිය තේරුම් ගත්ත නම්, ඒ පුද්ගලයාට කියනවා ඤාන සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා, ආර්ය සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා, නිවන් දකින්න හේතු වෙන ලෝකෝත්තර සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා කියල.

මේ විස්තර කරපු කාරණා ටික තේරුම් ගන්න පුළුවන් වුනා නම්, ආර්ය සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා නම් කාරණා 3 ක් වැටහුනා වෙනවා.

1. මිච්ඡා දිට්ඨිය මිච්ඡා දිට්ඨිය සේ දැනගනී.

2. සම්මා දිට්ඨිය සම්මා දිට්ඨිය සේ දැනගනී. සම්මා දිට්ඨිය දෙයාකාරයි කියා දැනගනී.

3. එකක් ලෞකිකයි, කෙළෙස් සහිතයි, සසර ගමනට හේතු වෙනවා, අනික ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා කියන මෙසේ දන්නා වූ දැනීමක් ඇත්ද, ඒ තමයි සම්මා දිට්ඨිය පිළිබඳ සම්මා දිට්ඨිය. ඒ තමයි සම්මා දිට්ඨිය වටා ඇත්තා වූ සම්මා දිට්ඨිය හරියට දකින සම්මා දිට්ඨිය.

මේ කාරණා ටික දැනගත්තම, නිවන් දකින සම්මා දිට්ඨිය මොකක්ද, සුගතියට හේතු වෙන සම්මා දිට්ඨිය මොකක්ද, දුගතියට හේතු වෙන මිච්ඡා දිට්ඨිය මොකක්ද කියල කාගෙන්වත් අහන්න දෙයක් නෑ. එතැනම දැනගන්නවා, මිත්‍යා දෘෂ්ටියයි යන යමක් ඇත්ද ඒවා මේ ලෝකයේ හීන දහම් කියල. ඒ වගේම ලෞකික සම්මා දිට්ඨිය යන යමක් ඇත්ද, ඒවා සුගතියට හේතු වෙන, පුණ්‍ය වෙන, සසර ගමනට හේතු වෙන මධ්‍යම දහම්. එහෙනම් චතුරාර්ය සත්‍යය දකින්නා වූ, දුක්ඛේ ඤානං... අයං වුච්චති භික්ඛවේ සම්මා දිට්ඨි කියල පෙන්වපු මෙන්න මේ සම්මා දිට්ඨිය ප්‍රණීත දහමක්. මේ විදිහට හීන දහම් හීන දහම් විදිහටත්, මධ්‍යම දහම් මධ්‍යම දහම් විදිහටත්, ප්‍රණීත දහම් ප්‍රණීත දහම් විදිහටත් දකිනවා.

මේ ටික දැනගත්තම **හීන දහම් නොකළ යුතුයි, ඒවා පහ කළ යුතුයි, මධ්‍යම දහම් ලැබුන අවස්ථාවක ප්‍රයෝජනයට ගන්න පුළුවන්, ඒ සඳහා විශේෂයෙන් කරන්න දේකුත් නෑ, අහක දාන්න දේකුත් නෑ, ලොකුවට අල්ල ගන්න දේකුත් නෑ, නමුත් චතුරාර්ය සත්‍යය දකින්නා වූ යම් දහමක් ඇත්ද, අන්න ඒක අති ශ්‍රේෂ්ඨයි, නිවන් මගට හේතු වෙනවා, සසර දුකෙන් නිදහස් වෙන්න හේතු වෙනවා කියන මේ කාරණා ටික ඒ පුද්ගලයා දැනගන්නවා.** මේ ටික තේරුම් ගත්තට පස්සෙ, ඒ ඒ තැන කටයුතු යෙදෙන කොට, යෙදෙන යෙදෙන කටයුත්තෙදි දකින්න පටන් ගන්නවා, මේක පාප ධර්මයක්, මේක පුණ්‍ය ධර්මයක්, මේක නිවනට හේතු වෙන කුසල ධර්මයක් කියල. එහෙම වෙන් කරල දකින නුවණ පහළ වෙනවා.

මෙන්න මේ තැනට ආවට පස්සෙ කියනවා, සම්මා දිට්ඨිය පරිවාර කරගෙන තියෙන සම්මා සතිය පහළ වුනා කියල. එතැනදි දැනගන්නවා, මා විසින් නිවන් අවබෝධ කරගන්න, සසර අනාථ බවෙන් වෙන් වෙලා නාථ තත්වයට හෙවත් නිවනට පත්වෙන්න කටයුතු කරන්න ඕන කියල. මෙන්න මේ අදහස ගත්තම අප්‍රමාදයෙන් යුක්තව ඒ සඳහා කටයුතු කරන්න පටන් ගන්නවා. එතකොට සම්මා දිට්ඨිය පරිවාර කරගෙන වට කරගෙන ඇත්තා වූ සම්මා වායාම මාර්ග හංගය වැඩෙනවා. ඒ අනුව සම්මා දිට්ඨිය නමැති මාර්ග හංගය මේ ආකාරයෙන් සම්මා සතිය සහ සම්මා වායාම කියන මාර්ග හංග 2 කින් පරිවාර කරගෙන පවතිනවා. මේ ආකාරයට සම්මා දිට්ඨිය තේරුම් ගත්ත නම් ආර්ය මාර්ගය කියල දෙන්න ඔහුට අමුතුවෙන් ගුරුවරයෙක් අවශ්‍ය නෑ. මේ අනුව තමන්ටම හැකියාව ලැබෙනවා, ආර්ය මග මොකක්ද, සුගති මග මොකක්ද, සතර අපා මග මොකක්ද කියල තේරුම් ගන්න.

තවත් විග්‍රහ සහිතව මේ සම්මා දිට්ඨිය ගැන පෙන්වනකොට කම්මස්සකථ සම්මා දිට්ඨි, ධ්‍යාන සම්මා දිට්ඨි, ඤාන සම්මා දිට්ඨි, මාර්ග සම්මා දිට්ඨි, ඵල සම්මා දිට්ඨි කියල පස් ආකාරයකින් විග්‍රහ වෙනවා. කර්ම ඵල අදහන, කර්ම ඵල විශ්වාස කරන සම්මා දිට්ඨිය තමයි කම්මස්සකථ සම්මා දිට්ඨිය. ධ්‍යාන පිළිබඳව දැනෙන්නා වූ යම් කිසි දැකීමක් තියෙනව නම් ඒක තමයි ධ්‍යාන සම්මා දිට්ඨිය. ඒ විදිහෙ ලෞකික වන්නා වූ දැකීම් 2 ක් තමයි කම්මස්සකථ සම්මා දිට්ඨි, ධ්‍යාන සම්මා දිට්ඨි කියන්නෙ. ඒ 2 අබුද්ධෝත්පාද කාලවලත් තිබුනා. අන්න ඒ සම්මා දිට්ඨිය සසර ගමනට හේතු වෙනවා, කෙළෙස් සහිතයි, කෙළෙස් බිඳිල නෑ. හැබැයි සුගතියට හේතු වෙනවා.

චතුරාර්ය සත්‍යය දකින සම්මා දිට්ඨිය තමයි ඤාන සම්මා දිට්ඨිය කියන්නෙ. ඒ මග අනුගමනය කරනකොට ලැබෙන්නා වූ මාර්ගය පිළිබඳ යම් දැනීමක් වැටහීමක් පූර්ණ වෙනවද, ඒකට මාර්ග සම්මා දිට්ඨිය කියල කියනවා. ඒ මග අනුගමනය කරල යම් කිසි ඵලයක් පූර්ණ කරගත්තද, ඵලයක් ලැබුවද, ඒ ඵලය ලැබීමෙන් ඇති වන්නා වූ දැක්මට ඵල සම්මා දිට්ඨිය කියල කියනවා. සෝවාන්, සකෘදාගාමි, අනාගාමි, අරිහත් ආදී වශයෙන් පළමු වටහා ගැනීම ලැබුවට පස්සෙ, සම්මා දිට්ඨිය කියන්නෙ මොකක්ද කියල කාගෙන්වත් අහන්න දෙයක් නෑ. මිත්‍යා දෘෂ්ටි වෙන්නෙ කොහොමද, මේ කටයුත්ත කරනකොට මිත්‍යා දෘෂ්ටි වෙයිද නොවෙයිද කියල අමුතුවෙන් කියල දෙන්න දෙයක් නෑ. ආර්ය සම්මා දිට්ඨිය මේකයි කියල වටහා ගන්නවා. ඒ ටික තේරුම් ගත්ත නම් එයින් එහාට ආර්ය මාර්ගය පූර්ණ කරගෙන යහපත ලබා ගන්න පුළුවන්කම ලැබෙනවා.

ඊළඟට මේ සම්මා දිට්ඨියට පත් වුනාම දුක්ඛේ ඤානං, දුක්ඛ සමුදයේ ඤානං... ආදී වශයෙන් මේ ඤාන පහළ වෙන්න හේතු වුනේ මොකක්ද? අපි අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මේ ලෝකය දැකිය යුතුයි කියන කාරණයක් තියෙනවා. "යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්ථා" කියන පද මාලාවෙන් ඒක විග්‍රහ වෙනවා. යමක් අනිච්චද ඒක දුකයි. යමක් අනිච්ච නම් දුක්ඛ නම් ඒක අනත්තයි. මේ කාරණය හොඳින් තේරුම් ගන්න ඕන. මේ වෙනකොට අනිත්‍යයි, දුක්ඛයි, අනාත්මයි කියල භාවිතා කරන ක්‍රමයකුත් තියෙනවා. ඒ ක්‍රමය තුළදි යමක් ස්ථිර නැත්නම් ඒක දුකයි, යමක් ස්ථිර නැත්නම් දුක නම් ඒක අනාත්මයි... ආදී වශයෙන් විග්‍රහ කිරීමක් කරගෙන යනවා. මේ ගැන මීට කලිනුත් දීර්ඝව විස්තර කරල



තියෙනවා. නමුත් කෙටියෙන් කියනව නම්, යමක් කියන වචනය ගත්තම, මේ ලෝකෙ ප්‍රියයි, මනාපයි, යහපතයි කියන යම් තාක් දේවල් ඇත්නම්, ඒ වගේම අප්‍රියයි, අමනාපයි, අයහපතයි කියන යම් තාක් දේවල් ඇත්නම් ඒ සියල්ලමත් ඔය කොටසට අයිති වෙනවා. එහෙනම් **ස්ථිර නැති නිසා ඒක දුකයි කිව්වොත්, ඒ අප්‍රිය අමනාපයි කියන ගොඩේ තියෙන ඒවත් ස්ථිර නැත්නම් ඒකත් දුකද කියල ප්‍රශ්නයක් අහන්න පුළුවන්.** එතකොට මොකක්ද දෙන පිළිතුර?

මෙතැනදී වඩාත් හොඳින් දහම් වැටහෙන්න, දුක පිළිබඳ වඩාත් හොඳින් වැටහෙන්න, ධර්මයට විරුද්ධ නොවන, දහම් අර්ථය හරියාකාරව වැටහෙන ක්‍රමයක් ඔය තුළම තියෙනවද කියල බලන්න ඕන. එහෙනම් ඉච්ඡ කියල වචනයක් තියෙනවා. "ඉච්ඡ සෙ නෑ" නැත්නම් "න ඉච්ඡ" කියල වචනයක් තියෙනවා. මොකක්ද මේකෙන් පෙන්වන්නෙ? කැමති සේ පවතිනව නම් ඒකෙ දුකක් නෑ. ඒක දුකක් කියල ලෝකයාට දැනෙන්නෙ නෑ. නමුත් යමක් කැමති සේ නැත්ද ඒක දුකයි. **කැමති සේ නැත්නම් දුකද සැපද කියල ඇහුවොත් කාටවත් ඒකෙ පරස්පර පෙන්වන්න පුළුවන්කමක් නෑ. කැමති සේ නැත්නම් ඒකාන්තයෙන්ම දුක එනව කියන කාරණය විද්‍යානුකූලව න්‍යාය ධර්මයට අනුකූලව හොඳටම විස්වාසයි, පැහැදිලියි.** ඒ කාරණය යම් පිච්චං නලබති තම්පි දුක්ඛං කියන ශ්‍රේෂ්ඨ බුද්ධ දේශනාවේම තියෙන නිසා ඒ ගැන සැකයක් හිතන්න විදිහක් නෑ. මේ විදිහට හිතුවොත් දුක වැහිල යයිද, දුක්ඛ ආර්ය සත්‍යය නොදැනෙයිද කියල සැක හිතන්න දෙයක් නෑ.

අපි යමකට කැමති නම් ඒ කැමති වෙන්නෙ මොනවටද? මන වඩන රූප, මන වඩන ශබ්ද, මන වඩන ගන්ධ, මන වඩන රස, මන වඩන පොට්ඨබ්බ කියන මේ පංච කාම වස්තූන්ට. මේවාට කැමති නම් අන්න ඒ කැමති දේ අපි කැමති සේ දකින්න, අපි කැමති සේ පවත්වගන්න පුළුවන්ද කියල නුවණින් විමසල බලන්න ඕන. **ලෝකයේ යම් කිසි මන වඩන ප්‍රිය මනාප රූපයක් විද්‍යමාන වුනා නම් අප්‍රිය අමනාප දේවල්වලින් ඒක වැහෙනවා. ඒ ප්‍රිය මනාප රූප ස්වභාවය බලා ඉඳෙද්දිම ගෙවිල වැනසිලා යනවා. දැන් මේ අවස්ථා 2 ටම අපි කැමති නෑ කියල ඒවායෙන් බේරෙන්න පුළුවන්ද?** පංච කාම සම්පත්තිය ප්‍රිය කරන, මනාප කරන කෙනෙක්, මන වඩන රූපයක් දැකල, නැත්නම් එබඳු රූපයක් ඇසුරු කරල, ඒකට "මම" කියල, "මගේ" කියල බඳා ගන්න බලාපොරොත්තුවෙන් ඉන්නකොට, ඒ මන වඩන රූප ස්වභාවයට විරුද්ධ දෙයක් ඇවිත් ඒක ගෙවිල යනව නම්, බාහිර විරුද්ධ දේකින් ඒක වැහෙනව නම්, ඒකෙ උරුමය ඒ වගේ ස්වභාවයක් නම් මොකද වෙන්නෙ? ඒ මන වඩන ස්වභාවය කැමති සේ නැති බව ඔප්පු වෙනවා. මේකට ආගම්, ජාති, කුල මල, ලොකු පොඩි භේදයක් නෑ. **කාට නමුත් යම් රූපයක් මන වඩනව නම්, හිතට ප්‍රිය මනාප නම්, එහෙම දෙයක් නැති වෙලා යනව දැක්කොත්, ඒකට විරුද්ධකාරයෙක්ගෙන් ඒ දේ වැනසිලා වෙනස් වෙලා යනව දැක්කොත් ඒකාන්තයෙන්ම දුක හට ගන්නවා, අසහනය හට ගන්නවා.** එහෙනම් මන වඩන, රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවා ලෝකයා බලාපොරොත්තු වෙනව නම්, ඒවා අකමැති දේවල්වලින් වැහිල යනවා. ඒ වගේම මුලින් කැමති සේ තිබුන ඒ මන වඩන ස්වභාවය ඒවායින් ඉවත් වෙලා යනවා, වෙනස් වෙලා යනවා. ඒක තමයි ලෝක ස්වභාවය. ඒක අපි කාටවත් වෙනස් කරන්න බෑ.

මෙන්න **මේ ස්වභාවය නැති කිසිම ප්‍රිය මනාප දෙයක් ලෝකයේ නෑ කියල සිහි නුවණින් බලනකොට විද්‍යා සිද්ධාන්තයක් හැටියට පේන්න පටන් ගන්නවා.** එහෙනම් මේක කාගෙවත් ආගමික මතයක් නෙවෙයි, විද්‍යා සිද්ධාන්තයක්. මේ ටික දැනගත්තම, මේ ලෝකයේ යමක් කැමති සේ තියෙනවද නැත්ද කියල බැලුවම, කැමති සේ පවතින දෙයක් පෙන්වන්න, ඔප්පු කරන්න සාධකයක් නැතිව යනවා. එහෙනම් ලෝකයේ යමක් පවතිනව නම්, ප්‍රිය මනාප හෝ අප්‍රිය අමනාප යමක් ඇත්ද කැමති සේ නෑ. **ප්‍රිය මනාප වන්නා වූ දේත් ගෙවිල යනවා, කැමති සේ නෑ. අප්‍රිය අමනාප දේවල්වලින් ඒවා වැළඳ ගන්නවා, වට කර ගන්නවා. කැමති සේ නෑ. අප්‍රිය අමනාප යමක් ඇත්ද ඒවා අපි කරා එනවා. ඒකටත් කැමති නෑ, ඒකත් කැමති සේ නෑ. එහෙනම් මේ 2 ම කැමති සේ නැත්නම්, ලෝකයේ කැමති සේ පවත්වන්න පුළුවන් දෙයක් හොයල බැලුවම, එහෙම දෙයක් ලෝකය තුළ තියෙනවද නැත්ද කියල මනා පරීක්ෂණයක් කරල සිහි කරල බලනකොට, ඒ ගැන හිතන්නත් දෙයක් නෑ නේද කියල ඕනෑම කෙනෙකුට තේරුම් ගන්න පුළුවන්කම ලැබෙනවා.**

මේ ටික තේරුම් ගත්ත නම් පහත කාරණා ටික වැටහෙනවා. යම් වස්තුවක් ඇසුරු කරගෙන කටයුතු කරනව නම්, ඒ පුද්ගලයාට සිද්ධ වෙනවා ඒ නිසා හට ගන්නා දුකට පත්වෙන්න. ඒකෙන් වළකින්න පුළුවන්කමක් නෑ. ඒ හැරෙන්න ඒකෙන් තවත් හරයක් කියල දෙයක් දෙන්නෙ නැත්නම්, ඒ හේතුව නිසා යමක් සිද්ධ වෙනවා. කැමති සේ නැත්නම් එබඳු දේවල්වල හරයක් නෑ, අනාථ දහම් කියල දකින්න පුළුවන් වෙනවා. එහෙනම් යම් කිසි ආකාරයෙන් ප්‍රිය මනාපයක් අල්ලන්න ගියා නම් ඒකත් අනාථයට වැටෙනවා. **ඒ ප්‍රිය මනාපයන් අල්ලන්න ගිහින් කැමති සේ පවත්වන්න බැරි දෙයක් ඇසුරට ගත්ත නම්, ඒ දෙක නිසාම සිද්ධ වෙන්නෙ අනාථ භාවයට පත් වෙන්න. එතකොට දකිනවා, දුක් දහම් සහ දුකට හේතු වෙන දහම් කියන දෙකක් තියෙනව කියල. දුකයි, දුකට හේතුවයි අනාථ දහම් කියල දැනගන්නවා. ඊළඟට මේ දුකෙන් නිදහස් වීමක් ඇත්ද, අත්හැරීමක්, නොඇල්මක්, මිදී යාමක් ඇත්ද, ඒ සඳහා මාර්ගයක් ඇත්ද, නාථ ධර්ම සහ නාථ ධර්මයට මාර්ගය එතැනයි කියල දකිනවා.**

මේ විදිහට අනාථ අනාථ හැටියට දැක්ක නම්, නාථ නාථ හැටියට දැක්ක නම්, අනාථ නාථ දැක්ක බව තේරුම් ගන්න ඕන. ලොව්තුරා බුදු පියාණන් වහන්සේට කියන තවත් නමක් තමයි අනාථ නාථයන් වහන්සේ. අන්න ධර්මය තුළින් බුදුන් දැක්කා. "යෝ ධම්මං පස්සති සෝ මං පස්සති" මේ ධර්මය තේරුම් ගත්ත කෙනා නාථ වූ නිවන නාථ හැටියට තේරුම් ගත්ත නම්, අනාථ ලෝකය අනාථ හැටියටත් තේරුම් ගත්ත නම්, සත්‍යය දැක්ක කෙනෙක් වෙනවා. අනාථ නාථ දැක්ක කෙනෙක් වෙනවා. මේ තත්වය දැක්ක කෙනා දැකපු දහමක් තියෙනවා. "සං" කියන එකතුවෙන් මිදෙන්න දැකපු චතුරාර්ය සත්‍යය, අනාථ නාථ... ඔන්න ඔය ආකාරයෙන් දැක්ක බව තේරුම් ගත්ත නම්, ඒ තැනැත්තාට මිදීමක් තියෙනවා, සැනසුමක් ලබන්න පුළුවන්කමක් තියෙනවා. මේ ටික තේරුම් ගත්ත නම් ලෝකෝත්තර සම්මා දිට්ඨියෙන් දැකිය යුතු දහම දැකල තියෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සමාජයේ මුල් බැස ගත් භෞතිකවාදී දෘෂ්ටි...

ප්‍රසුගිය කලාපයෙන් "මරණින් මතු උපතක් නැත" යන දෘෂ්ටිය බිඳින අයුරු විග්‍රහ කළා. ඒ වගේම අද සමාජයේ ඇතැමුන් අතර පවතින තවත් භෞතිකවාදී දෘෂ්ටියක් / මතයක් තමයි, භික්ෂූන් වහන්සේලා කියල විශේෂත්වයක් නෑ, ඒ අයට දන් දුන්නා කියල විශේෂයක් නෑ, වැඩ කරල දුක් විඳින කම්කරුවන්ට සළකන එක ඊට වඩා වටිනවා... ආදී වශයෙන් කියන්නෙ. මේ ගැටළුවත් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට යොමු කළ අවස්ථාවක දුන්න ඉතා කෙටි පිළිතුරක් ඇසුරු කරගෙන තමයි මේ ලිපිය සකස් කරන්නෙ.

විශේෂයෙන් මේ වෙනකොට කොමියුනිස්ට්වාදී, සමාජවාදී, මාක්ස්වාදී... ආදී වශයෙන් කියන පිටරටින් ආපු දර්ශනයන් / මතවාදයන් කරපින්නා ගැනීම නිසා තමයි මේ වගේ අදහස් ලාංකීය ජන සමාජයට මුසු වෙලා තියෙන්නෙ. ඒ ඔස්සේ බිහි වෙච්ච විවිධ දේශපාලන පක්ෂ, කණ්ඩායම් පවා තියෙනවා. ඒ අයට දහම ගැන විස්වාසයක් අවබෝධයක් නෑ. ලෝකයේ ඉන්න ඔක්කොම මිනිස්සු එකයි, ඒ ඔක්කොටම එක වගේ සමානව ලැබෙන්න ඕන කියන... ඔය වගේ අදහසක් තමයි මූලික වශයෙන් ඒ අය දරන්නෙ. කර්ම ඵල, පින් පව් විස්වාස කරන්නෙ, තේරුම් ගන්නෙ නැති නිසා තමයි ඒ වගේ අදහස් එන්නෙ. ඒ අය යමක වටිනාකමක් හෝ ගුණ මාත්‍රයක් හෝ දකින්නෙ, මනින්නෙ පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන දේවල්වලින් විතරයි. වෙනත් විදිහකින් කියනව නම්, භෞතිකත්වය තුල ඇහෙන පෙනෙන දැනෙන දේවල් විතරයි පිළිගන්නෙ. ඒ අනුව ඒ අයට පිටින් පෙනෙන දේ විශේෂයි කියල මතයක් හදා ගන්නවා. ඒ නිසා අනෙක් කාටත් වඩා දහදිය මහන්සියෙන් දුක් විඳින අය විශේෂයි, වටිනවා කියල දකිනවා.

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කරනව නම්, සමාජයේ වැඩියෙන් වටිනා මිනිස්සු කවුද කියල කසිප්පු මුදලාලි කෙනෙක්ගෙන් ඇහුවොත් අනෙක් අයට වඩා කසිප්පු බොන අය වටිනවයි කියයි. තමන්ගෙ දෘෂ්ටියට අනුව ඔහුට වැඩිපුරම වටින්නෙ කසිප්පු බොන අය. එතකොට කසිප්පු බොන මිනිහගෙන් ඇහුවොත් කසිප්පු මුදලාලි වැඩිය වටිනවයි කියයි. භික්ෂූන් වහන්සේ නමක්, සිල් ගත්ත උපාසක මහත්තයෙක් ඒ අයට වටින්නෙ නෑ. පංච කාම ආස්වාද තම තමන්ගෙ භුක්තියෙන් අරගෙන ඒක මුල් කරගෙන තමයි ඒ විදිහට මනින්නෙ. තමන්ට පංචකාමය විඳින්න යමක් ආධාර වෙනවද ඒ පැත්තට වැඩි වටිනාකමක් දෙනවා. එතකොට එක එක්කෙනාට වටිනාකම වෙනස්. ඒ නිසා පොදු තීරණයක ඉන්නෙ නෑ. ඒවා සියල්ල පුද්ගලිකයි. තමන්ගෙ වාසියට හදා ගත්ත ඒවා. සත්වයා තමන් කැමති තීරණයට පාක්ෂිකයි. මේ වගේ මතවාද දරන අයට තියෙන්නෙත් ඒ වගේ නිගමන.

දැන් මේ වගේ අවස්ථාවක ඒ අයගෙ මතයක් / දර්ශනයක් තියෙනවා. අව්වෙ දහදිය පෙරාගෙන දුක් මහන්සි වෙලා කළුගල් කඩන කම්කරුවා රට ගොඩනගනවා, හාමුදුරුවරු මිනිස්සු දෙන දන් ටික අරගෙන මුකුත් කරන්නෙ නෑ, තමන්ගෙ පාඩුවෙ ඉන්නවා, ඒ නිසා වැඩිය සළකන්න ඕන කම්කරුවට, වැඩිය වටින්නෙ කම්කරුවා කියන අදහස ඒ අයට එනවා. දැන් මේ කාරණය දිහා පිටින් බැලුවම නම් හරි. එහෙම දෙයක් තමයි පිටින් පේන්නෙ. මොකද අභ්‍යන්තර ගුණ මහත්වය දකින්නෙ නෑ. මස් ලේ ඇහැට පෙනෙන දෙයින් නිගමන දෙනවා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයෙත් ඔය වගේ ප්‍රශ්න මතු කරපු අය හිටියා. ඒ අය මේ ලෝකයේ යහ පැවැත්මට හේතු වෙන ශක්තිය, ගුණය හඳුනගෙන නෑ.

**නිවන් මග වඩන භික්ෂූන් වහන්සේ නමක් මිනිස්සු දෙන දානය අරගෙන නිකං ඉන්නෙ නෑ. ඒ දානයෙන් ශරීරයට ශක්තියක් අරගෙන නිවන් මග වඩනකොට මුළු මහත් විශ්වයටම යහපත් සුදු කිරණ ශක්තියක් නිකුත් වෙනවා. ඒ වගේම උන්වහන්සේ වෙතින් සියලු සත්වයන් කෙරෙහිම මෙත් සිතක් වැඩෙනවා. ඒ කාරණය භෞතිකව පිටින් බැලුවම පේන්නෙ නැති වුනාට උන්වහන්සේ විසින් නිහඬවම කරන අති උත්තම ක්‍රියාවලියක්.**

ඒ වගේම තමන් දැකපු සත්‍යය, යථාර්ථය දයානුකම්පාවෙන් අනෙක් අයටත් කියල දීල ඒ අයත් යහපතෙහි පිහිටවනවා. ඒක ඊටත් වඩා විශේෂයි. මොකද ඒ වගේ දහමක් ලෝකයේ විද්‍යමාන වෙන්නෙ අතිදුර්ලභව. ඒ වගේ දහම් මගක් වඩන, දේශනා කරන උත්තමයොත් ලෝකයේ දුර්ලභයි. ඒ වගේ උත්තමයො නිසා තමයි මේ රට, ලෝකය මේ විදිහට හරි ඉන්න පුළුවන් තත්වයක පවතින්නෙ. නැත්නම් මිනිස්සු මේ පංචකාම භුක්තිය වෙනුවෙන් කොච්චර නම් ගහ මරාගන්නවද? සාප කරගන්නවද? අන්න ඒ දූෂිත බව නිසා නැගෙන කලු කිරණ ශක්තියෙන් විසම වන විශ්ව ධාතුව යම්කිසි විදිහකින් සම තත්වයට පත්වෙන්නෙ ආධ්‍යාත්මික ගුණ වඩන උත්තමයො නිසා. නමුත් ඒ වගේ ගුණ මහත්වය තුලින් හැදෙන්නා වූ යහපත් දේ කම්කරු මානසිකත්වය තුල ඉන්න තාක් කල් කම්කරුවා තුල ගොඩනැගෙන්නෙ නෑ. ඒ නිසා භෞතික වශයෙන් ඇහැට පෙනෙන යමක් කළාට ඒ අයගෙන් එහෙම සුද්ධ ශක්තියක් පිටවෙන්නෙ නෑ. ඔවුන්ට ප්‍රධාන වශයෙන්ම තියෙන්නෙ කර්ම විපාකයක් විඳින එක. පෙර සසරේ අනෙක් අයට බර වැඩ කරන්න දීලා, අනෙක් අයගෙ ශ්‍රමය අසාධාරණ විදිහට හූරගෙන කාලා, තමන් විතරක් සන්තෝසයෙන් කාල බීලා, අනුන්ට නොදී ගොඩ ගහගෙන හිටපු... ඒ ආදී වශයෙන් වන්නාවූ සංඛාර වල විපාකය තමයි අද ගෙවන්න වෙලා තියෙන්නෙ. ඒ කාරණය කර්ම විපාකය මුල් වෙලා මේ අත්බවයේ බලපානවා. 100% ක්ම නෙවෙයි. නමුත් ඉපදුනාට පස්සෙ ඒ කර්මය මුල් කරගෙන ජීවත් වෙන පරිසරය ඒකට උපනිශ්‍රය වෙනවා. නමුත් භෞතිකවාදීන් ඒ හේතු ඵල සම්බන්ධය දකින්නෙ නෑ.

ඉතින් කම්කරුවන් වෙනුවෙන් ජාත්‍යන්තරයේ දවසකුත් වෙන් කරල තියෙනවා කම්කරු දිනය, මැයි දිනය කියල. කෑ ගහල, දහදිය හෙළල, වේදිකා තනල කම්කරු රැලි පවත්වනවා. ඒවා නිසා මේ වෙනකොට කී දෙනෙක් නම් මැරුනද? කැරලි කෝලාහල ඇතිවෙලා ජීවිත නැති වුනාද? ඉතින් ඔතැනදි වේදිකාවල නැගල කෑමොර දීමත් ද්වේශයෙන් කරන්නෙ. මොකද ඒ අය කර්ම ඵල, පින් පව් විස්වාස කරන්නෙ නෑ. ඒ නිසා අපිට සමානත්වයක් දියව්, අපේ ඉල්ලීම් දියව් කියන සටන්කාමී අදහසේ ඉන්නවා. දැන් පෙනෙන ඵලය විතරයි දකින්නෙ. ඒ සඳහා මූලික වෙච්ච පෙර හේතු දකින්න නැණ නුවණක් නෑ.

ඉතින් සමානත්වයක් දෙන්න නම් සමාන ගති ලක්ෂණ තියෙන්න එපැයි! ඒ සඳහා සමාන පින් දහම් කරල ගුණ දහම් වඩල තියෙන්න එපැයි! එහෙමයි සමානත්වය කියන එක ලැබෙන්නෙ. ඒක කවුරුවත් දෙන දෙයක් නෙවෙයි. තමන් විසින්ම කරගත යුත්තක්. නමුත් ඒ අවස්ථාවෙදි කම්කරුවෙක් විදිහට දහදිය මුගුරු හෙළල දුක් විඳින්න පසුතලය හැදුනම ඒකෙන් ප්‍රයෝග සම්පත්තිය හෝ විපත්තිය හදා ගන්නවා. ප්‍රයෝග සම්පත්තියක් හදා ගත්තොත් යහපත් පැත්තට ගොඩ යන්න පුළුවන්. ඒ කියන්නෙ රැකියාවත් කරන ගමන් තමන්ට ලැබුන දෙයින් සතුටු වෙලා පිනක් දහමක් කරගෙන ගුණ දහම් වඩන්න පුළුවන්. ප්‍රයෝග විපත්තියක් හදා ගත්තොත් ඒ විපාකය තවත් දිග්ගැස්සෙන එකයි වෙන්නෙ. ඒ කියන්නෙ තමන්ට ලැබුන දෙයින් සතුටු වෙන්නෙ නැතිව, පිනක් දහමක් කර ගන්නෙ නැතිව, ඒ වගේ ගුණ දහම් වඩන්නෙ නැතිව, තමන්ට අසාධාරණයක් වුනා කියල කෑ මොර දෙනවා, සටන් කරනවා. අසාධාරණයට මූල හේතුව දකින්නෙ නෑ. එතකොට මේ කියන ප්‍රයෝග සම්පත්තියයි, ප්‍රයෝග විපත්තියයි දෙකත් තියෙන්නෙ තමන් අතේ. ඊට පස්සෙ ඒ කාරණයත් විපාකයට ඇදිල එනවා.

හැබැයි ඒකෙන් කියන්නෙ නෑ, කම්කරුවන්ට නොසැළකිය යුතුයි, ඔවුන් හැමදාම දුක් විඳිය යුතුයි කියල. ලෝක සම්මතයේ බලහත්කාරයෙන් අසාධාරණයක් වෙලා තියේ නම් ඒක වළක්වන්න ඕන, ඒ මට්ටමට සාධාරණය ඉෂ්ට කරන්න ඕන, ඒ අයට සළකන්න ඕන. නමුත් මේ කියන්නෙ ඒක නෙවෙයි. ඔවුන් ඒ දුක් විඳින කම්කරු තත්වයෙන් නිට්ටාවට ගොඩ එන්න නම් මේ කියන යහපත් ගති ලක්ෂණ ඇති කරගත යුතුයි. ඒක මනස තුල ගොඩනැගෙන දෙයක්. බුද්ධ සාසනය මුල් කරගෙන සිදු කරන පින් දහම් කටයුතු තමයි එතැනදි මූලික වෙන්නෙ. ඉතින් ලෝක සම්මතයේ බෞද්ධ නොවන අන්‍යාගමික කම්කරුවො ඉන්නව නම්, ඒ අයට වුනත් තම තමන් අදහන ආගම දහමට අනුව ඒ ජාතියේ යහපත් පින් දහම් කටයුතුවල නියැලෙන්න පුළුවන්. ඒ විදිහට තමයි ඒ විපාකය ගෙවෙන්න හේතු සකස් වෙන්නෙ, මේ ලෝකයේ ජීවත් වෙන්න අවශ්‍ය යම් කිසි පහසු ලැබීමකට මුල පුරන්නෙ.

ඉතින් මැයි පළවෙනිදා කියන්නෙ ලෝකයේ හැම රටක්ම වගේ සමරන දවසක්. මහා පිරිසක් එකතු වෙලා අඬෝනා නගමින් කෑගහනකොට විශ්වයට තවත් ද්වේශයක්, ගිනි කිරණක් නිකුත් වෙන දවසක්. රතු ලේ වැගිරීම තමයි සමරන්නෙ. රතු පාටින් පෙන්වන්නෙ ගැටීම, ද්වේශය. තමන්ට දුක් මහන්සි වෙලා වැඩ කරන්න වෙච්ච හේතුව දකින්නෙ නෑ.

ඒ නිසා හරි විදිහට නම් කළ යුත්තේ, ඒ දවසට සියල්ලෝම එකතු වෙලා කෑ මොර දෙන එක නෙවෙයි, අඬෝනා නගන එක නෙවෙයි, ලෝකයේ යථාර්ථය දකින්න උත්සාහ කරන එක. ඒ සඳහා උපනිශ්‍රය වෙන කටයුතු සිද්ධ කරන එක. නමුත් ඒ අයට ඒක එකපාරටම දකින්නත් බෑ. මොකද කම්කරුවන් විදිහට කාලයක් තිස්සේ දෘෂ්ටිගත වෙලා ඇවිත් තියෙන්නෙ. ඒ සංඛාර වඩල තියෙන්නෙ. ඒ නිසා ඒ අයට එක පාරටම නුවණ පහල වෙන්නෙත් නෑ. ඒ දෘෂ්ටියෙන්ම මැරිල ඒකෙන්ම ඉපදිලා ඒකෙන්ම හැදිල වැඩිල ඉන්න කෙනාට ඒක තේරුම් ගැනීම ලේසි පහසු දෙයක් නෙවෙයි. කොච්චරවත් ඒ අදහස්මයි එන්නෙ. ඒ අදහස් වෙනස් වෙන්න නම් මේ වගේ දහමක් ඇසිය යුතුයි. ඒ සඳහා පසුතලය සකස් කළ යුතුයි.

ඉතින් ඔය කොමියුනිස්ට්වාදී, සමාජවාදී, මාක්ස්වාදී... ආදී වශයෙන් කියන සංකල්ප ඒ ඒ පිරිස් බිහි කරන්න, තමන්ගෙ තත්වෙ රැකගන්න, ලොකු කරගන්න හදා ගත්ත ඒවා. එතකොට කොයි පැත්තෙන් හරි දෘෂ්ටිගත වෙනවා. එක්කො අත්ථකිලමතානුයෝගය අරගෙන දෘෂ්ටිගත වෙනවා. එහෙම නැත්නම් කාමසුඛල්ලිකානුයෝගයට බැහැල දෘෂ්ටිගත වෙනවා. රජවරු, කෝටිපතියො කාමසුඛල්ලිකානුයෝගය වර්ණනා කරනකොට, වැඩ කරල දුක් විඳින කම්කරුවො අත්ථකිලමථානුයෝගය වර්ණනා කරනවා. කොහෙන් ගියත් ඔය අන්ත 2 ට තමයි බහින්නෙ. සිහි බුද්ධියෙන් කටයුතු කරන කෙනෙක් මිසක් අනෙක් කෙනෙක් ඔය දෙකෙන් මොකකට හරි බැහැල තමයි ගමන යන්නෙ. යථාර්ථයට බහින්නෙ නෑ.

ඉතින් ඒ අය මොන විදිහට කෑ ගැහුවත් කවදාවත් මේ ලෝකය / සමාජය සමාන වෙන්නෙ නෑ. එහෙම වෙන්න විදිහක් නෑ. එහෙම වුනොත් කර්ම ඵල බොරු වෙනවා. ලෝකය බහු හේතුකයි. ලෝකයේ සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු සියල්ල බහු හේතුකයි. එකම හේතුවකින් හැදුන ඒවා

**නෙවෙයි. හේතු සමූහයක ප්‍රතිඵල. ඒක එදත් එහෙමයි, අදත් එහෙමයි, හෙටත් එහෙමයි. ඒක ඔප්පු කරන්න පුළුවන් කාරණයක්. බුදුන් වහන්සේ වැඩ හිටිය කාලයෙත් ලෝකයේ අන්ත දුප්පත්, මධ්‍යම පාන්තික, පොහොසත්, ලස්සන, අවලස්සන... ආදී විවිධ ප්‍රභේද තිබුනා, විවිධ රැකියා කටයුතු තිබුනා.** උත්සාහයෙන් වීර්යයෙන් එක්තරා මට්ටමකට ඒවා අතර පරතරය අඩු කරන්න පුළුවන් මිසක්, ඒවා කාටවත් වෙනස් කරන්න, සම මට්ටමකට ගන්න පුළුවන් දේවල් නෙවෙයි. වෙනස් කරනව නම් තමන්මයි ඊට අනුරූප තමන්ගෙ ගති වෙනස් කරගත යුත්තෙ. මොකද තමන් සසරෙ එනකොට වඩන සංඛාර අනුව පහල වෙන කර්ම ශක්තිය තමයි මේ සියල්ලටම මුල් වෙන්නෙ. **ඉතින් ලෝකයේ ඉන්න සියලු මිනිස්සු ඒ වගේ විසම ගති වෙනස් කරගෙන එකම ගතියකට එනවයි කියන එක කවදාවත් එකවිට සිද්ධ වෙන දෙයක් නෙවෙයි. මනුස්ස ලෝකෙ විතරක් නෙවෙයි, දිව්‍ය ලෝකෙ ගත්තත් මේ කියන කාම සම්පත්තියට පොරයක්, තරඟයක් තියෙනවා. සුර අසුර යුද්ධෙ කියන්නෙත් ඒ වගේ දෙයක්. ඊට අමතරව ඒ ඒ දිව්‍ය ලෝකවලත් දිව්‍ය සැප සම්පත්වල තියෙන විවිධත්වය නිසා දුක් අඳෝනා, අමනාපකම් තියෙනවා. මේ තුන් ලෝකෙ කොහේ ගියත් ඔය තත්වය තමයි අඩු වැඩි වශයෙන් තියෙන්නෙ. නමුත් ඒ කාරණය මේ වගේ දෘෂ්ටි මතවාද දරන අයට පේන්නෙ නෑ.**

ඉතින් අද වෙනකල් අවුරුදු ගණනාවක් තිස්සේ කම්කරු සටන් කියල ලේ දහදිය හැලුවට අන්තිමට වෙච්ච දෙයක් නෑ. ඒ කෑ ගහපු අය කාලයක් ඉඳල මැරිල ගියා. ඊට පස්සෙ ඒ ගතියට අනුව තවත් තැනක උප්පත්තිය ලබනවා. ඒක බලාගෙන ඉඳපු තවත් පිරිසක් ඒ වැඩ පිළිවෙලම අනුගමනය කරල කෑ කෝ ගහල ඒ විදිහටම මැරිල යනවා. ඕක තමයි හැමදාම වෙන්නෙ. මේ වගේ සටන් පටන් ගත්තු රටවල බොහොම ටික කාලයයි ඕක තිබුනෙ. ඒක බොහොම තාවකාලිකයි. මහා රජවරු වගේ හිටපු අයගෙන් අධික පීඩිත තත්වයට පත්වෙලා ඒක මතක හිටිනකල් විතරයි තිබුනෙ. ඊට පස්සෙ සාමාන්‍ය මට්ටමට එනකොට නැවතත් යට ගියා. ඒක කර්ම විපාකවලින් වෙනස් වෙනවා. යම් යම් නීති අණ පනත් පනවගෙන ඒ අයගේ ආරක්ෂාවට, වාසියට හේතු වෙන විදිහට යම් යම් දේවල් ලබාගෙන තිබුණත්, තවමත් කම්කරු සටන් කියන ඒවා නතර වෙලා නෑ. දවස ගානෙ බැලුවත් කොතැනක හරි අරගලයක්. ඒ කියන්නෙ තවත් බලාපොරොත්තු තියෙනවා. තව ලැබුනත් නතර වෙන්නෙ නෑ. බලාපොරොත්තු අසීමිතයි. මොකද මේ ලෝකයේ පංචකාම සම්පත්තියෙන් සෑහීමකට පත් වෙනවා කියන එක පෘතජ්ජනයෙකුට කවදාවත් සිද්ධ වෙන දෙයක් නෙවෙයි. ඒ අයගේ බලාපොරොත්තු අසීමිතයි. අන්තිමට මැරිල ගියාට පස්සෙ ඒ කරපු සටන්වලින් එකක්වත් තමන්ට වැඩක් වෙලා නෑ.

දැන් මේ වගේ කම්කරු සටන් වුනත් අවි ආයුධ නැතිව මැඩ පවත්වන එක එච්චර දෙයක් නෙවෙයි. ඔය වගේ දෙයක් මැඩ පවත්වන්න ඒ ඒ සමිතිවල නායකයන්ට තත්ව තානාන්තර ටිකක් දුන්න නම් වැඩේ ඉවරයි. මේ වෙනකොට ඒක අත්දැකීමක්. මොනවහරි පංචකාම සම්පත්තිය පිනවන්න අවශ්‍ය ටිකක් ඒ නායකයන්ට දුන්නම ඕක ගණන් ගන්නෙවත් නෑ. ඊට පස්සෙ කටපියා ගන්නවා. පැවැත්ම වෙනුවෙන් කෑගහනවා. එදා පාරෙ තොටේ ජනප්‍රිය සටන් පාඨ කියමින් ඒවාට නායකත්වය දෙමින් සමාජ සාධාරණත්වය උදෙසා කියල උස් හඬින් කෑ ගහපු උදවියගෙ පසුකාලීන ජීවිතය හොයල බැලුවම ඒ කාරණය පැහැදිලියි. අද ඒ අය බොහොමයක් ලෞකික වශයෙන් යමක් කමක් තියෙන අය. සමහරු ඉහල තැන්වල වැජඹෙනවා. ඊට පස්සෙ අර කියපු කතා ඔක්කොම අමතකයි. සමහර විට දැන් ඒවාට විරුද්ධවත් කතා කරනවා. මුල අමතකයි. ඔක්කොම තමන්ගෙ වැඩේ කරගන්න කල් විතරයි. දැන් මේ ඒ අයට දොස් කියනව නෙවෙයි. නමුත් ඒක තමයි පෘතජ්ජන ස්වභාවය. මොකද ඔය කෑ ගහල සටන් කරන්නෙ දහම් අවබෝධයක් තියෙන අය නෙවෙයි. හරි දහමක් අහන්න නැතිවෙනකොට මිනිස්සු බොහොම පහසුවෙන් ඔය වගේ දෘෂ්ටිවලට බහිනවා.

ඉතින් ඒ නිසා ඔය විදිහට වටිනා කාලය, ශ්‍රමය, ධනය නාස්ති කරගෙන කෑ ගහනවට වඩා දුර්ලභව ලබපු මනුස්ස අත්බවයෙන් ප්‍රයෝජන ගන්න වැදගත් දෙයක් කරන්න තියෙනවා. අඩු ගානෙ එදා දවසෙ තෙරුවන් උදෙසා මලක් පහනක් පූජ කළා නම් විසාල පුණ්‍ය ශක්තියක් නැගෙනවා. ඒකට ඔය තරම් කෑකෝ ගහන්න, ලේ දහදිය හලන්න වෙහෙස වෙන්න දෙයක් නෑ. නමුත් අත්ථකිලමතානුයෝගී කම්කරුවාට ඒ සඳහා ලේසියෙන් මානසිකත්වයක් එන්නෙ නෑ. අර ගතියමයි එන්න බලන්නෙ. දැන් බලන්න කම්කරු දිනය සමරනවයි කියල මහ විසාල කාලයක්, ශ්‍රමයක්, ධනයක් වියදම් කරල කෑමොර දීල අන්තිමට රෑ වෙලා ගෙවල්වල යනවා. නායකයො ඒ අයව ඉත්තො විදිහට පාවිච්චි කරල සැප විඳිනවා. අන්තිමට ඒ දවසම රටට, විශ්වයට මහ බරක් එකතු කරනවා. එක පැත්තකින් ද්වේශය නිසා නැගෙන කළු කිරණ ශක්තිය. අනික් කාරණය දවසම නිකරුනේ අපතෙ යනවා. ඒ දවස එලොවටවත් නෑ, මෙලොවටවත් නෑ. නමුත් ඒ අය ඒ කාරණය දකින්නෙ නෑ.

**එදාට මලක් පහනක් පූජ කරල සසර ගමනෙදි තමන්ගෙන් අවැඩ අසාධාරණ වෙච්ච පිරිසට, තමන්ගෙ කම්කරු සගයන්ට පින් අනුමෝදන් කරන්න පුළුවන්නම් ඒක කොච්චර වටිනවද? ඒක කරන්න බැරි නම්, ඒක පිළිගන්නෙ නැත්නම්, අඩු ගානෙ ඔය කෑ ගහන අය ඔක්කොම එකතු වෙලා මියගිය අය සිහි කරල පැළයක් හිටෙව්ව නම් ඒක මෙලොව, පරලොව දෙලොවටම වැඩදායකයි. විසාල පිනක් නැගෙනවා. එහෙම නැත්නම් ඒ ශ්‍රමය, ශක්තිය යොදවල පන්සලක් වගේ පූජනීය ස්ථානයක් සුද්ධ පවිත්‍ර කළා නම්, ගිලන් වෙච්ච භික්ෂූන් වහන්සේලාට හෝ වැඩිහිටියන්ට උපස්ථාන කළා නම් විසාල පුණ්‍ය ශක්තියක් නැගිල කර්ම විපාකය ගෙවෙන්න හේතු වෙනවා. ඒක මෙලොව වශයෙන් සහනයක් ලබන්නත් හේතු වෙනවා.**

ඉතින් මේ වගේ කාරණා ගැන දැනුවත් කරන්න කෙනෙක් නැති එකයි දැන් තියෙන ගැටළුව. මොකද දැන් ඉන්න ආගමික නායකයොත් බොහෝ කොටම ආගම දහම පැත්තකින් තියල සමාජ සේවා කටයුතුවලට සම්බන්ධ වෙලා ඒ වගේ පන්ති අරගලවලටමයි නායකත්වය දෙන්නෙ. ඒ නිසා ඒ ගැන දැනුමක් අවබෝධයක් නැති වෙලා තියෙනවා. රටේ නායකකාරාදීන්ටත් දහම ගැන දැනුමක් අවබෝධයක් නෑ. ඒ නිසා ඒ අයත් ඒ වගේ දේවල්වලටමයි මුල් තැන දෙන්නෙ. අන්තිමට බලනකොට මේ වටිනා දහම යට යාමම තමයි මේ ඔක්කොම ප්‍රශ්නවලට මුල වෙලා තියෙන්නෙ.

සටහන :

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# බහිරව පූජාවක දහම් පැතිකඩ...

අද සමාජයේ බහිරව පූජාවක් කිව්වම විවිධ මතිමතාන්තර තියෙනවා. බොහෝ දෙනෙකුට සිහිවෙන්නෙ මොනවහරි පැරණි නිධානයක් ගන්න කරන කට්ටඩි වැඩක් ගැන. මොකද බොහෝ කොටම ජනමාධ්‍ය තුලින් අහන්න ලැබෙන්නෙත් ඒ වගේ නොකටයුතු කරන්න ගිහින් නීතියේ රැහැනට අහුවෙච්ච අවස්ථා ගැන. නමුත් මේ කතා කරන්නෙ ඒ ජාතියේ බහිරව පූජාවක් ගැන නෙවෙයි. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කරල දුන්න, මේ ලෝකයේ ජීවත් වෙන අපි හැමෝටම වැදගත් වෙන ඉපැරණි දැහැමි ක්‍රමවේදයක් ගැන.

අද ලෝකයේ ජීවත් වෙන අපි හැම දෙනාම තමන්ගෙ දේපළක හෝ වෙනත් කෙනෙකුට අයිති දේපළක හෝ ජීවත් වෙනවා. ඒක කුලියට / බද්දට වෙන්න පුළුවන්, තමන්ගෙම වෙන්නත් පුළුවන්, එහෙම නැත්නම් පොදු ස්ථානයක් හෝ යම් කිසි පූජනීය ස්ථානයක් වෙන්නත් පුළුවන්. ඒ හැම තැනකටම වර්තමානයේ යම් කිසි අයිතියක් පුද්ගලයෙකුට හෝ කිහිප දෙනෙකුට හෝ රජයට හෝ වෙනත් කාටහරි හෝ තියෙනවා. ඒ වගේම මෙතැනදි බොහෝ දෙනෙක් නොදන්නා, විස්වාස නොකරන කාරණයකුත් තියෙනවා. ඒ තමයි ඒ සියලු තැන්වලට පෙර උරුමකම් කියපු, ඒවායේ රැඳිල බැඳිල ඇලිල ගැලිල ජීවත් වෙන, අපේ පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන සත්ව කොටසක් ඉන්නවා කියන කාරණය. එයින් එක කොටසක් තමයි බහිරව කියන කොටස. **හවයට හිර වෙලා ඉන්නවා කියන එක තමයි බහිරව කියන්නෙ.**

අද ලෝකයේ මනුස්සයෙක්ගෙ ආයු කාලය අවුරුදු 100 නම්, අපි දකින්නෙ ඒ අවුරුදු 100 තුල අත්විඳපු, අත්දැකපු දේවල් විතරයි. නමුත් අපිට නොපෙනෙන ගුප්ත ලෝකයේ බුද්ධාන්තර ගණන් ප්‍රේත, භූත... ආදී විවිධ අත්බැව්වල ගත කරන සත්ව කොටස් ඉන්නවා. ඒ පිළිබඳ බුද්ධ දේශනාවලත් සඳහන් වෙලා තියෙනවා. ඒ වගේ අත්බැව් දැක ගන්න පුළුවන් දිවැසිවරු කලාතුරකින් හරි ලෝකයේ පහල වෙනවා. බිම්බිසාර රජතුමාගෙ ඥාතීන් ප්‍රේත අත්බැවක බුද්ධාන්තර 4 ක් දුක් විඳපු අවස්ථාවක් දහමේ සඳහන් වෙනවා. ඒ වගේම ඒ අත්බැව්වල ජීවත් වෙන පිරිස් යක්ෂ, ප්‍රේත, ගෙවල, පිසාච, කුම්භාණ්ඩ, බහිරව, තලාටු, භූමාටු, පරදත්තූප ජීවි, වෘක්ෂ දේවතා... ආදී ලෙසත් යම් කිසි භූමියකට, නිවසකට, ව්‍යාපාරික ස්ථානයකට, වෘක්ෂයකට හෝ පුද්ගලයෙකුගේ ශරීරයට හෝ අරක්ගෙන ඉන්න පුළුවන්. ඒ වගේම යම් කිසි භූමියක තියෙන සුවිශේෂීය ස්ථානයන්ට අරක්ගෙන ඉන්නත් පුළුවන්.

උදාහරණ විදිහට ඒ වගේ අය පෙර වැඳුම් පිදුම් කළ වෙහෙර විහාර, චෛත්‍ය, බෝධීන් වහන්සේලා, අරිහතුන් වහන්සේලා ඇතුළු මගඵල ලාභී උත්තමයන් වැඩ වාසය කළ ස්ථාන, පරිහරණය කළ විවිධ භාණ්ඩ... ආදියට අරක්ගෙන ඉන්න පුළුවන්. අදටත් නවගමුව, අළුත්නුවර, කැබිලිත්ත, කබල්ලෑව, කතරගම, රත්නපුර මහ සමන් දේවාලය, ශ්‍රී පාද අඩවිය, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ, අෂ්ඨ ඵල බෝධීන්, දෙතිස් ඵල බෝධීන්... ආදී සියලු පූජනීය ස්ථාන ඒවාට අරක්ගත් දිව්‍ය, බ්‍රහ්ම තැන් පටන් සියලු දෙනා වන්දනා මාන කරන පුද සත්කාර කරන ස්ථාන විදිහට ප්‍රසිද්ධ කාරණයක්. ඔවුන් එදා ඒ වන්දනාමාන පුද සත්කාර පැවැත් වූයේ කොහොමද, අදත් ඒ විදිහටම ඒ ස්ථානවල ඉඳගෙන යම් යම් අවස්ථාවලදි ඒ වගේ දේවල් සිද්ධ කරවනවා, ඒවාට සහභාගි වෙනවා. සමහරවිට අද ඒ භූමිවල ඒ වගේ දේවල් පිටට පේන්න සිද්ධ නොවුනත්, නොපෙනෙන ලෝකයේ ඒ වගේ අවස්ථා ඒ ආකාරයෙන්ම සිද්ධ වෙනවා. උදාහරණ විදිහට සෝමාවතී මහ සෑ රජුන් රුගත කරන අවස්ථාවල, දෑසට නොපෙනුනත් කැමරා කාචයේ සටහන් වෙච්ච පෙරහරක රූප රාමු දකින්න ලැබිල තියෙනවා. ඒවායේ පින්තූර පවා ප්‍රදර්ශනයට තියල තියෙන ආකාරය දකින්න පුළුවන්. ඒ වගේම කැමරා කාචවල සටහන් නොවුනත්, දිවැස් සමාධි ලබපු භාවනායෝගී උතුමන්ට ඒ වගේ කාරණා දැකගන්න පුළුවන්. උදාහරණ විදිහට වහරක අභයරතනාලංකාර මහ

තෙරුන් වහන්සේ, රුවන්වැලි සෑය වගේ පූජනීය ස්ථානවල මේ වගේ දේවල් දැකල ප්‍රකාශ කරපු අවස්ථා ඕනෑ තරම් තියෙනවා.

ඒ වගේම නොපෙනෙන ලෝකයේ තවත් පිරිසක් අණවින, කොඩිවින, හූනියම් පාළු, නීච බන්ධන... ආදියට අහුවෙලා ඒවායින් ගැලවිලා යන්න බැරිව ඒ ඒ තැන්වලට හිර වෙලා ඉන්නවා. ඒ අයටත් කර්මානුරූපීව කාලයත් එක්ක ඒ බන්ධන බිඳිල ගිහින් හෝ යම් කිසිවෙක් විසින් ඒ බන්ධන කපා ඉවත් කිරීමෙන් හෝ නිදහස් කරන කල් ඒවායින් නිදහස් වෙන්න බැරිව ඉන්නවා. උදාහරණ විදිහට ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් පහල වෙන කාලයට ඒ මහා පුණ්‍ය ශක්තියේ බලයෙන් ඒ වගේ බන්ධන පිපිරිලා ඒ හිර වෙලා ඉන්න සත්ව කොටස් නිදහස් වෙන බවත් කියනවා. එහෙම නැත්නම් යම් කිසි අභිඥා බලයක්, ඉහල අධ්‍යාත්මික ශක්තියක් තියෙන උත්තමයෙක් විසින් අධිෂ්ඨාන කරල ඒ බන්ධන පුපුරවල නිදහස් කරන්න පුළුවන්.

ඒ වගේම යම් කිසි ශක්තියක් තියෙන කෙනෙක් විසින් බල වරම් දීල, එහෙම නැත්නම් තමන්ගෙ පාරමිතා ශක්තියකින්ම බල වරම් අරගෙන යම් කිසි ප්‍රදේශයක්, රාජ්‍යයක් හෝ ස්ථානයක් හෝ බාරභාරව ඒ සීමාවේ සියලු දේට අධිපතිකම් කරන අයත් ඉන්නවා. උදාහරණ විදිහට රජරට අයියනායක දෙවියන්ට, සබරගමුව ශ්‍රී පාද අඩවිය සුමනසමන් දෙවියන්ට, කතරගම ස්කන්ධ කුමාර දෙවියන්ට, සියලු ඖෂධ වෘක්ෂ මංගර දේවතාවන්ට, සොහොන් හතර සීමාව සොහොන් යකාට, නාන ළිං තොටුපොළවල් තොටේ යකාට... ආදී වශයෙන් බාර කරල තියෙනවා. අපේ පැරැන්නන් ඉර මුදුන් වෙන වෙලාවට, රාස්සිගේ අව්ව වැටෙන වෙලාවට නාන ළිං තොටුවල විශේෂයෙන් කාන්තාවන්ට තනිපංගලමෙ නාන්න යන්න එපා කිව්වෙත් මේ හේතුව උඩ. මොකද මේ කියන වෙලාවල්වලට ඒවාට අරක් ගත්තු අය බලවත් වෙනවා.

**ඒ වගේම ලංකාද්වීපය රකින්න සතර වරම් දෙවියන්ට තියෙන වරම, නලපාන ජාතකය, පංචායුධ කුමාරයාගේ කතාව... ආදී මේ සෑම එකකින්ම කියවෙන්නෙ, මේ මහ පොළව මත භූමියේ අයිතිය, ගහකොළ, කඳු, පර්වත, ඇල දොල, ගංගා, මහා සමුද්‍රය... ආදියේ හිමිකම මත ඊට අධිගෘහිත දෙවි දේවතාවුන්ගේ සහ නොමිනිස් සියලු දෙනාගේ අයිතියක් තියෙනවා කියන කාරණය.** පෘතජ්ජන ස්වභාවය ඉක්මවා ගිහින් අන්තිමට අරිහත් ඵලයෙන් කෙළවර වෙනකල්ම මේ හැම සත්වයෙක්ම තමන්ගෙ හෝ තමන්ගෙ පරපුරේ පැවැත්ම ගෙනියන්න කුමන හෝ ස්ථානයකට අයිතිවාසිකම් කියනවා. අවිද්‍යාව තියෙන තාක් ඒ කාරණය එහෙමයි.

**එතකොට අපි අවුරුදු සියයක විතර උපරිම ආයු කාලයක් තුල මුදල් ගෙවල මිලදී ගන්න, එහෙම නැත්නම් වෙනත් ක්‍රමවලින් අයිතිය ලබා ගන්න ගෙවල් දොරවල්, වතුපිටි, ළිං, පොකුණු, ගහකොළ... ආදී දේට, අපිට නොපෙනෙන ලෝකවල අවුරුදු දස දහස් ගණන්, සමහරවිට බුද්ධාන්තර ගණන් පවා අයිතිවාසිකම් කියාගෙන ඉන්න සත්ව කොටස් ඉන්නවා. ඉතින් ඒ කාරණය දැනගෙන ඊට අදාළ ධර්මානුකූල වත්පිළිවෙත් නොකරන නිසා අපේ මිනිස්සු ඒ සමහර වාසස්ථානවල ජීවත් වෙන්න උත්සාහ කළත් කිසිම දියුණුවක් නෑ.** ඒ ස්ථාන තමන්ට ජය භූමියක් වෙලා නෑ. ඉන්න හිත දෙන්නෙත් නෑ. සමගිය සමාදානය වෙනුවට අසමගිය, හිත් අමනාපකම්, සුව නොවන නිදන්ගත රෝග, මානසික අසහනය තමයි උරුම වෙන්නෙ. මොන ක්‍රමයකින්වත් ඉන්න බැරි වුනාම ගුප්ත ක්‍රමවලින් පිළිසරණ හොයනවා. අන්තිමට දේවාල, කෝවිල් ගානෙ ගිහින් අඳුන් බලනවා, සාස්තර අහනවා, සෙත් කවි කියනවා, තොවිල්පවිල් කරනවා, තවත් නොයෙක් අධාර්මික ගුප්ත කර්මවලිනුත් පිහිට පතනවා. මේ වගේ ගොඩක් දේවල් කරනකොට සමහරවිට තාවකාලිකව සුළු සහනයක් ලැබෙන අවස්ථාත් තියෙනවා. නමුත් ඒ හැම ක්‍රියාවලියකින්ම කරන්නෙ විපාකය ඈතට තල්ලු කිරීමක්. එහෙම නැත්නම් තවත් විපාක වැඩි කර ගැනීමක්.

අද බොහෝ අවස්ථාවල කියවෙන්නෙ, භූමිය මතු පිට ද්‍රව්‍ය වස්තු සහ ඊට අදාළ යම් යම් දෑ කෙරෙහි ඇල්මෙන් බැඳිල ඊට අරක් ගත් නොමිනිස් පිරිස් ගැන. භූමිය අභ්‍යන්තරයේ ඊට අරක් ගත්, ඒ තියෙන ද්‍රව්‍ය වස්තුවලට අයිතිවාසිකම් උරුමකම් කියන අය ගැන කියවෙන්නෙ නෑ. නමුත් එහෙම කොටසකුත් ඉන්නවා. ඒ භූමිවලට හෝ ඒවායේ තියෙන යම් යම් දෑට අරක්ගත් ඒවාට උරුමකම් කියන අය ඒ භූමිවල යම් ඉදි කිරීමක්, ගොඩනැගීමක් කරනකොට ඒවාට බාධා පමුණුවනවා.

ඒ බාධාවන් භූමියක මතුපිට ඉන්න අමනුස්ස කොටස්වලින් සිද්ධ වෙන දෙයක් නම්, එතකොට කරන්නෙ යකැදුරෙක්, කට්ටඩියෙක් ළඟට ගිහින් කාරණය කියල, යන්ත්‍ර මන්ත්‍ර බලපුළුවන්කම්වලින් ඒ අයව අල්ලගෙන බන්ධනය කරල ගැටගහල ගඟක, මුහුදක හෝ පතලකට අත්හැරල වහල දාන එක. නමුත් ඒක සාර්ථක ක්‍රමවේදයක් නෙවෙයි. ඒකෙන් ප්‍රශ්නය තවත් සංකීර්ණ වෙනව මිසක් ගැලවීමක් නම් නෑ. මේ වගේ කරදරවලින් බේරෙන ධර්මානුකූල ක්‍රමවේදයන් මීට පෙර හෙළ බොදු පියුම 27, 28, 29, 39, 83, 86 කලාපලින් විස්තර කරල තියෙනවා. ඒ ක්‍රමවේද අනුගමනය කිරීමෙන් සසර ණය ගනුදෙනු නියමාකාරයෙන් ධර්මානුකූලව පියව ගන්න පුළුවන්. තමන්ට විපාක එනකොට තමන්ගෙන් වෙච්ච වැරදි, වැරදි විදිහට දැකල සාසන ගුණ ඉදිරියේ පිළිඅරගෙන කමා කරල, නැවතත් ඒ වැරදි නොකරන බවට පොරොන්දු වෙලා ඒවාට වන්දි ගෙවල නිදහස් වෙන නියම ක්‍රමවේද තමයි ඒ. ඒ වගේ සාසනික ප්‍රතිකර්ම සිද්ධ කරගන්න කාටවත් තවත් කෙනෙක්ගෙන් යැපෙන්න, කාගෙවත් පස්සෙන් යන්න අවශ්‍ය නෑ.

දැන් මේ ඉහතින් සඳහන් කළේ ඉර හඳ, වාතයට නිරාවරණය වන ලෝකයේ නොපෙනෙන අත්බැව්වල ඉන්න පිරිස් ගැන සහ ඒ අයගෙන් එන්නා වූ කරදර බාධකවලට කළ යුතු ප්‍රතිකර්ම ගැන. නමුත් ඒ ක්‍රමවේද දන්නෙ නැති අය මොකද කරන්නෙ, මළ පෙරේත තටුවක් දීල දොළ බතක් කැප කරල, කුණු පොල්තෙල්වලින් පහන් පත්තු කරල, බිත්තරයක් / කුකුළෙක් බිල්ලට දීල, ලේ රීරිමාංස ගොටු ගහල දීල, බිත්තර ජීවම් කරල, ගොඩ දිය මස්, ඇට, ඇටි පහ... ආදී නොයෙක් දොළ පිදේනි දීල වශියකට ඉනාවකට බන්ධනය කරල අල්ලල ගැට ගහල, තවත් මළ යක්කු විසින් ආරක්ෂා කරනවා කියල, ඒ ගෙදර හතර මුල්ලටත්, ඉඩමේ හතර කොණටත් තියල ගැටගහල, මළ ගෙවල්, කොටහළු ගෙවල් සහ කිළි තියෙන තැන්වල යන්න එපා කියල, වංචාවෙන් බොරුවෙන් මිනිස්සු මුලා කරල තමන්ගෙ බඩ ගෝස්තරය උදෙසා පෙර තිබ්ච්ච වටිනා සාස්තරයක් ඒවායේ අක්මුල් පවා නොදැන පාවිච්චි කිරීම.

පෙර හිටපු උදවිය නම් ඒ නොපෙනෙන පිරිස්වලට කන්න බොන්න, ඉඳුම් හිටුම් දීල ඒ අයගෙ කොටස වෙන් කරල දුන්න මිසක් 

ඔය විදිහට හිර කළේ නෑ. ඒ වගේ ධර්මානුකූල වත්පිළිවෙත් තමයි ඉස්සර ගොක් බඳිනවා, ගම්මඩු තියනවා... ආදී වශයෙන් තිබුනෙ. නමුත් අද වෙනකොට ඒවා අභාවයට ගිහින් අනෙක් එවුන් හිර කරල තමන්ගෙ බඩගෝස්තරය විතරක් රැකගන්න තත්වයට ඒ සාස්තර පත් වෙලා තියෙනවා. වැඩේ වැරදුනොත් කිල්ලට අහුවෙලා, ශාන්තිකර්මය කරන වෙලාවෙ කවුරුහරි ඌරු තෙල් දාල තියෙනවා, මිනී අළු ඉහල තියෙනවා... ආදී මොනව හරි දෙයක් කියල ඇඟ බේරගන්නවා.

මේ විදිහෙ වංචාවන්ගෙන් ප්‍රවේසම් වෙලා, තමන්ගෙ තුවාලය තමන්ම සුද්ධ කරගෙන තමන්ම බෙහෙත් දමාගෙන සුව කරගන්නවා වගේ, නොපෙනෙන සියලු අත්බැව්වල ඉන්න සියලු දෙනා කරා තමන්ගෙන් ඔවුන්ට වෙච්ච අවැඩ අසාධාරණවලට වන්දි ගෙවල ඔවුන් ඉන්න දුක්ඛිත අත්බැව්වලින් අත්මුදවල, ඉන්න හිටින්න තැනක් ලබා දීල, අඳින්න ඇඳුම් පැළඳුම් දීල, කන්න බොන්න දීල, දුගතියෙන් අත්මිදිල සුගතිගාමීව යහපත් සිතුම් පැතුම් ඒ ආකාරයෙන්ම සිද්ධ වේවා කියල ආශිර්වාද කරමින්, අප විසින් රැස් කර ගත්ත සියලු පිං කුසල් ඔවුන්ටත් අනුමෝදන් කරන ක්‍රමවේදයන් තමයි මීට පෙර කලාපවලින් විස්තර කළෙත්, ඉදිරියේදි විස්තර කරන්න බලාපොරොත්තු වෙන්නෙත්. එතකොට ඒ අය අපි කෙරෙහි තරහවක් මරහවක් ඇති කර ගන්නෙ නැතිව දුක්ඛිත අවස්ථාවලින් නිදහස් වෙලා තමන්ගෙ අයිතිවාසිකම් භුක්ති විඳගෙන අපිටත් උදව් උපකාර කරනවා.

අපට නොපෙනෙන ලෝකයේ උදව්ය ගැන කතා කරනකොට, අපි ඉන්න භූමිවලට අරක් ගෙන ඉන්න තවත් කොටසක් තමයි බහිරව කියන්නෙ. බහිරවයන් ප්‍රධාන කොටස් දෙකයි. **තමන් හිතන පතන කියන කරන ක්‍රියාවන් තුළින් (සංඛාර තුළින්) බහිරව කියන ජාතියක් ගොඩ නගාගෙන ඒ ජාතියේ විපාක ගෙවන කොටස එකක්. බලෙන් බහිරව බවට පත් කළ කොටස තව එකක්.** මේ දෙවෙනි කොට්ඨාසය බිහි කරන ක්‍රමවේදය අද දකින්න නොලැබුනත් පෙර එහෙම ක්‍රමයක් තිබිල තියෙනවා. ඒ ක්‍රමවේදය සම්පූර්ණයෙන් පළ කිරීම මේ වගේ දහම් සඟරාවකට නොගැලපෙන නිසා, මෙහෙම දේවල් ලෝකයේ තිබුනයි කියන කාරණය දැනගන්න විතරක් කෙටියෙන් සටහන් කරනවා.



**පෙර දවසෙ රජ කෙනෙක්, සිටුවරයෙක්, මහාමාත්‍යවරයෙක්, එහෙම නැත්නම් විසාල වංචාකාරයෙක්, හොරෙක්... මේ ආදී අයට වස්තු සම්භාරයක් තිබුනා. මේ සමහරු තමන් විසින් මොනව හරි ක්‍රමයකින් හරිහම්බ කර ගත්තු, තමා සන්තකයේ තියෙන සියලු වස්තුවට බැඳුන සිත් ඇතිව ඒවාට ලෝභ වෙලා ඒ කෙරෙහි රැඳිල බැඳිල, ඒ භූමිවලට හෝ ඒවායේ තැන්පත් කළ වස්තුවලට හෝ හිත් ඇතිව මරණින් මතු බහිරවයෙක් විදිහට උපත ලබල ඒවාට අරක්ගෙන ඉන්න පුළුවන්. ඒ තමයි සංඛාර තුළින් තමන්ම ගොඩ නගන බහිරව ජාතිය.**

ඒ වගේම තමන් මළ පසු ඒ වස්තුව වෙන කෙනෙක් අතට පත් වෙනවට අකමැති කොටස් ඔය අතර ඉන්නවා. ඒ නිසා තමන් ජීවත් වෙලා ඉන්නකොටම ඒවා නිධන් කරල විශ්වාසවන්තම සේවකයෙක් ගෙන්වල ඒ සියලු වස්තුව අර සේවකයාට පෙන්වල, මම ගිහින් එනකල් මගේ සියලු වස්තුව උඹට අයිතියි, මම ඇවිත් ඉල්ලන කල් කිසිම කෙනෙකුට දෙන්න එපා, මැස්සෙකුටවත් වහන්න නොදී මේ සියල්ල උඹ රැක බලාගත යුතුයි කියල කියනවා. තමන්ගෙ සියලු රන්, රිදී, මුතු, මැණික්... ආදී වස්තුව තැන්පත් කරල තියෙන මේ ස්ථානය, ගල්වලින් කළ ගුහාවක, ගඟක හෝ වෙනත් යම් තැනක හෝ වෙන්න පුළුවන්. ඉන්පසු ඒ ස්ථානයට අර සේවකයාම හෝ සේවකයින් පිරිසක් හෝ ගෙන්වල ඔවුන් ඉදිරියේ ඒ වස්තුව තැන්පත් කරල තියෙන භාජනය හෝ ස්ථානය විවෘත කරල පෙන්වනවා.

එතකොට ඒ පිරිසට අදහගන්න බැරිව තුෂ්නිම්භූත වෙලා අර වස්තුව දිහා බලාගෙන ඉන්නවා. ඒ සැණින්ම ගත්ත හුස්ම පහල හෙලන්නත් පෙර අර වස්තුව දිහා බලාගෙන ඉන්න සේවකයාගේ ගෙල එක කඩු පහරින් සිඳ දමනවා. දැන් මේ හිස් කැපුම් කාපු කෙනා ඊට අදාළ සංඛාර වැඩිල ඒක උපාදාන කරගෙන තිබුන නම් පාතාල බහිරවරයෙක් විදිහට තමයි උප්පත්තිය ගන්නෙ. පහත් දේට ආලය කරපු, ආසා කරපු නිසා තමයි පාතාල කියන්නෙ. ඒ අවස්ථාවේ මේ ක්‍රියාව කරවන්න ආපු අනෙක් සේවකයින්ට නොපෙනෙන විදිහට, රජ කෙනෙක් නම් රාජකීය ගුප්ත සාස්ත්‍රඥයා ලවා වහාම රන් හෝ රිදී කෙන්දකින් අර මියගිය සේවකයාගේ ප්‍රාණය බන්ධනයකට අරගෙන දිෂ්ටි ගන්වල ගැටගහල තියා ගන්නවා. නිධන් කරපු වස්තුව තියෙන තැනට සේවකයාගේ හිස සුන් සිරුර දමා ඒ ස්ථානය වහල දානවා. හිස විතරක් අරගෙන යනවා.

මේ ගෙනියන හිසට ප්‍රාණය බන්ධනය කරල අර නිධන් තැන්පත් කරපු රජාට හෝ අදාළ කෙනාට බන්ධනය ඉනා කරවනවා. ඊට පස්සෙ මේ රජා හෝ අදාළ පුද්ගලයා මොන යම් හෝ කාලයකදි මියගිහින් කර්ම විපාකවලට යටත්ව යම් යම් උප්පත්තිවලට ගිහින් නැවතත් කවදහරි ඒ පිළිබඳව මතක් කරන්න පුළුවන් තැනක උප්පත්තියට ආවොත්, අර ඉනාව නිසා ඒ තැන්පත් කරපු දේවල් පිළිබඳව මතක් වෙලා ඒවා ලබා ගන්න අයිතිවාසිකම් කියනවා. අන්න එහෙම ඇවිත් ඉල්ලුවොත් ඒවා ලබාදෙන බවටත්, ඒ වෙනකල් ඒවා ආරක්ෂා කරන බවටත්, ඊට හිලව් විදිහට තමන්ට මෙන්න මේ දේවල් ලැබිය යුතුයි කියල ඒවාට අරක් ගත් බහිරවයා /



# දිවැස් ලැබෙන පහන් පූජාව ඇතුළු මහත් ආනිසංස ගෙනෙන සාසනික පින්කම්...

පෙර බොදුනුවො පහන් පූජා කළේ අර්ථයක් ඇතිව. ප්‍රඥා සාසන දහම් මාර්ගයක් තමයි ඒකෙන් විස්තර වෙන්නෙ. මේ පිළිබඳව හෙළ බොදු පියුම 20 වන කලාපයේ විස්තර ලිපියක් පළ වෙලා තියෙන නිසා ඒ ගැන නැවතත් විස්තර කරන්න අවශ්‍ය නෑ.

තථාගතයන් වහන්සේ උදෙසා, ශ්‍රාවකයන් උදෙසා කරන සුළු පූජාව පවා බොහෝ ආනිසංස ලබන්න හේතු වෙනවා. (න සක්කා පුඤ්ඤං සංඛාතුං ඉමෙත්තමිති කේනචී) සසර ගමන තුල සක්විති රජකම්, දෙදෙව් ලොවට අධිපති සක්දෙව් රජ සම්පත්, දෙව් සම්පත්, මිනිස් ලොව රජ සිටු සම්පත්... ආදිය ලබන්න ඒ පින හේතු වෙනවා.

ඒ වගේම අපදාන පාළියේ සඳහන් වෙනවිදිහට කෙනෙකුට නිවන් අවබෝධ කරගන්න වැඩ පිළිවෙලේ මූලාරම්භය සැකසෙන්නෙ එවැනි සාසනික පින්කම් තුලින්. ඒ නිසා කල් නොදමා, ලැබිච්ච අවස්ථාවෙ පින් දහම් කරගන්න හැමෝම උත්සාහවන්ත වෙන්න ඕන.

"මා භික්ඛවේ පුඤ්ඤානං භායිත්ථ, සුඛස්සේතං අධිවචනං පුඤ්ඤංති" මහණෙනි, පිනට බය වෙන්න අවශ්‍ය නෑ. පින කියන්නෙ සුඛයට කියන තවත් වචනයක්.

පිනෙන් සසර දික් වෙන්නෙ නෑ. සත්වයාගෙ සසර සැකසෙන්නෙ අවිද්‍යාව නමැති නීවරණයත්, තණ්හාව නමැති සංයෝජනයත් නිසා.

පුඤ්ඤං චේ පුරිසෝ කයිරා
කයිරාථේතං පුනප්පුනං



බහිරවයන් අර විදිහට බන්ධනය කරපු වෙලාවෙදි ඉල්ලීම් කිහිපයක් ඉදිරිපත් කරනවා.

තමන් මේ වස්තුව රකින කල් කාම සම්භෝගයක යෙදෙන්න බැරි වෙනවාය, ඒ නිසා හිලව් විදිහට ලෝකයේ තියෙන මේ මේ කාම වස්තු තමන්ට ඕනෑය... ආදී වශයෙන් මේ අවස්ථාවෙදි බහිරවයා තවත් ඉල්ලීම් ගණනාවක් ඉදිරිපත් කරනවා. මොකද තමන් මෙතැන බලාගෙන ඉන්න තාක්කල් ආහාර, වස්ත්‍ර කිසිවක් ලැබෙන්නෙ නෑ. ඒ සියල්ලම ලබා ගත යුතුයි. ඒවා ලබා ගන්න නම් බහිරව කියන ජාතියේ තවත් ඉෂ්ට බහිරවයෙක්ගෙන් ඔහු ගත කරන ජීවිතයට අවශ්‍ය වෙන්නෙ මොනවද කියල අහනවා. මොකද පාතාල බහිරවයො කෙලින්ම සම්බන්ධ වෙන්නෙ නෑ, ඉෂ්ඨ බහිරවයො හරහා තමයි සම්බන්ධ වෙන්නෙ. එතකොට ඔහුට අවශ්‍ය කරන සියලු දේ කියනවා. කුකුල් බිල්ලක්, හරක් බිල්ලක්, එළු බිල්ලක්, ලේ රීරි කැවුතු, පීකුදු, වනමල් සුවඳ ධූපයන්, පන්දම් පාලි... ආදී සියලු දේවල් ඉල්ලනවා. ඒ ඉල්ලන ඒවා හිමිකරු විසින් ලබා නොදුන්නොත්, ඒ වස්තුව හිමිකාරයාටත් නොදී ඒ ඉල්ලීම් ලබා දෙන තැනැත්තාට දෙනවා කියන පොරොන්දුව පිට තමයි මේ ඉල්ලීම් කරන්නෙ. ඒ වගේම මේ එකක් හෝ අඩු නම් දෙන්නෙ නෑ කියලත් දිවුරනවා. පොරොන්දු කැඩුවොත් නරකට හිටිනවා. අද කාලයේ නිධන් ගන්න ගිහින් වැනසෙන්නෙත් මේ වගේ දේවල් නිසා. ඒ වගේ අවස්ථා බොහෝ තියෙනවා.

අද නිධන් සලකුණු කියල හිතාගෙන ගල් තලා, ගල් ගුහා, වෙහෙර විහාර, දේවාල... ආදිය කඩා බිඳ දමන්නෙත් බොහෝ කොටම නිධන් තියෙන තැන් නෙවෙයි, ඒ පිළිබඳව සඳහන් කරපු තැන් හෝ අර බිලි දීම් සිදු කළ ස්ථාන. මේ සියලු ස්ථානවලට අරක්ගත් බහිරවයොත් ඉන්නවා.

ඒ භූමි සීමාවන් එදා වෙන් කරල බල පිහිටෙව්වෙ කොහොමද, ඒ සීමාවන්වල බලය අදටත් එක සේ බල පවත්වනවා. ඒ වගේ ස්ථාන අද ප්‍රධාන සීමාවට විතරක් ඉතිරි වෙලා ඉතිරි සියල්ල මිනිස්සු පදිංචි වෙලා හෝ විකුණල, එහෙම නැත්නම් ව්‍යාපාරික ස්ථාන ගොඩනගාගෙන ජීවත් වෙනවා. නමුත් ඒවායේ පදිංචි අය නිකං ජීවත් වෙනවට ජීවත් වෙනව මිසක් කායික මානසික නිරෝගී බවෙන් නිදහස් නිවහල් නිරවුල් මනසකින් ජීවිතය පවත්වගෙන යන්න ඉඩ ලැබෙන්නෙ නෑ, කිසිම දියුණුවක් ලැබීමක් නෑ. මොන ක්‍රමයකින් විසඳුම් හෙව්වත් ඒවායේ ප්‍රතිඵල තාවකාලිකයි. මොකද ඒ භූමිවල තියෙන බහිරව දෝස නිසා. හැබැයි ඔවුන්ට කරදරයක්, බාධකයක්, අවහිරයක් අපි කරන්නෙ නැත්නම්, ඔවුන්ට ලැබිය යුතු දේවල් දහම් ක්‍රමවේදයන්ට අනුව ලබා දෙනව නම්, ඔවුන්ගෙන් කිසි කාලෙක අපිට කරදර හිරිහැර සිද්ධ වෙන්නෙත් නෑ. ඔවුන් බොහෝ විට උපකාරයට කෘතෝපකාර දක්වන ගුණයෙන් යුක්තයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*සටහන :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

තම්හි ඡන්දං කයිරාථ
සුඛෝ පුඤ්ඤස්ස උච්චයෝ

(ධම්ම පදය - පාප වග්ගය)

**මනුස්සයා යම් පිනක් කරනව නම් ඒක නැවත නැවතත් කරන්න ඕන. ඒ වගේම ඒක ඕනෑකමින් කරන්නත් ඕන. පින් රැස් කිරීම සැපයට හේතු වන කාරණයක්.**

මාප්පමඤ්ඤේථ පුඤ්ඤස්ස
න මං තං ආගමිස්සති
උද බින්දු නිපාතේන
උදකුම්භෝපි පූරති
පූරති ධීරෝ පුඤ්ඤස්ස
ථෝකථෝකම්පි ආචිනං

(ධම්ම පදය - පාප වග්ගය)

**සුළු වශයෙන් කරන පින්කමක් වුනත්, ඒකෙන් මට විපාක ලැබෙන එකක් නෑ කියල පිනට අවමන් කරන්න හොඳ නෑ, නොසළකා හරින්න හොඳ නෑ. දිය බිංදුව බිංදුව වුනත් එකතු වෙලා කලයක් ජලයෙන් පිරිල ඉතිරිලා යනව වගේ, ස්වල්ප ස්වල්ප හෝ පිං රැස් කරන ඥානවන්තයා පිනෙන් පිරුනු පොහොසතෙක් වෙනවා.**

අද ඉන්න සියලු දෙව් මිනිසුන් මේ ගෞතම බුදු සසුනෙදිම නිවන් දකින අය නෙවෙයි. පැවිදි වෙලා හිටියත් ඒ සියලු දෙනාම මේ භවයෙදි හෝ ගෞතම බුදු සසුනෙදිම හෝ නිවන් අවබෝධ කර ගන්නව කියල නියමයක් නෑ. අනාගත මෛත්‍රී බුද්ධ සාසනයේ වගේම එතැනින් පස්සෙ පහල වෙන බුද්ධ සාසනවල තව බුදුවරු දහස් ගණනකට වුනත් පස්සෙ ධර්මාවබෝධ කරන අය සියලු සත්වයන් අතර ඉන්නවා. එවැනි අයට පාරමී ගුණ පිරෙන්න සාසනික දානමාන, පූජා සත්කාර, වන්දනා මාන, ගෞරව ඇප උපස්ථාන... ආදිය හේතු වෙනවා. ඒ නිසා පින් දහම් කර ගැනීම කාට වුනත් අපතෙ යන දෙයක් වෙන්නෙ නෑ.

මේ ජීවිතයෙදි නිවන් දකින්න හේතු තියෙන කෙනෙකුට වුනත් ආර්ය මාර්ගය වඩා ගැනීමට තියෙන කරදර බාධක දුරු කරගන්න, සසර ණය ගනුදෙනු පියවගෙන සතර වරිගයේ ඥාති හිතමිත්‍රාදීන්ට පුණ්‍යානුමෝදනා කරන්න සාසනික පින් දහම් ඉතා වැදගත් වෙනවා.

විශේෂයෙන් පහන් පූජාව වගේ පිංකම් දිවැස් වගේ මහා ඥාන ලබන්න, ලෞකික වශයෙන් සසර ගමනෙදි සැප සම්පත් භුක්ති විඳින්න හේතු උපනිශ්‍රය වෙනවා. නමුත් මේ පිළිබඳව දහම් කරුණු අද වෙනකොට යටපත් වෙලා තියෙන නිසා, එහෙම නැත්නම් ඒ ගැන කතා නොකරන නිසා වැඩි පිරිසක් ඒ වගේ දේවල්වලට වටිනාකමක් දෙන්නෙ නෑ. සමහරු නොදන්නාකමින් ඒ ගැන විවේචන පවා කරල අවැඩ කරගන්නවා.

ගෞතම බුදු සසුනේ දිවැස් ලැබූ භික්ෂූන් අතර අග තනතුර ලැබුවේ අනුරුද්ධ මහ රහතන් වහන්සේ. (ඒතදග්ගං භික්ඛවේ මම සාවකානං භික්ඛූණං දිබ්බ චක්ඛුනං යදිදං අනුරුද්ධෝ) ගෞතම බුදුන් වහන්සේට කල්ප ලක්ෂයකට පමණ පෙර පදුමුත්තර කියන තථාගතයන් වහන්සේ ලෝකයට පහල වුනා. ඒ කාලෙ අනුරුද්ධ හාමුදුරුවො කෙළෙඹි පුත්‍රයෙක් (පවුල්කාරයෙක්) විදිහට ඉන්නකොට, පිරිසක් සමග පදුමුත්තර බුදු පියාණන් වහන්සේගෙන් බණ අහන්න ගිහින් හිටපු වෙලාවෙ, තථාගතයන් වහන්සේ විසින් එක භික්ෂූන් වහන්සේ නමකට දිවැස්ලාභී භික්ෂූන් අතර අග තනතුර ලබා දෙනව දැකල, මටත් මේ තනතුර ලබන්න ඇත්නම් හොඳයි කියල අදහසක් ආවා.

පහුවදා පදුමුත්තර බුදු රජාණන් වහන්සේ ප්‍රධාන ලක්ෂයක් පමණ භික්ෂූන් වහන්සේලා උදෙසා දානමාන, පූජා සත්කාර සිද්ධ කරල අවසානයෙදි බුදු රජුන් වෙතට ඇවිත්, ස්වාමිනි මේ පින හේතු කොටගෙන දිව්‍ය මනුස්ස සම්පත් පතන්නෙ නෑ, මම මතු කාලෙක දිවැස් ඇති භික්ෂූන් අතර අග තනතුර ලබන්න කියල ප්‍රාර්ථනා කරනවා, මේ ප්‍රාර්ථනාව සිද්ධ වෙනවද නැත්ද කියල ඇහුවා. බුදුන් වහන්සේ අනාගතය බලල, මෙයින් කල්ප ලක්ෂයකට පසු ගෞතම කියල තථාගතයන් වහන්සේ නමක් ලෝකෙ පහල වෙනවා, ඒ කාලෙ ඔබගේ පැතුම ඉෂ්ට වෙනව කියල විවරණයක් දුන්නා.

එතැන් පටන් බොහෝ පින්කම් කරල පදුමුත්තර තථාගතයන් වහන්සේ පිරිනිවන් පාලා, උන්වහන්සේගේ ධාතූන් වහන්සේලා නිධන් කරල සෑය හැදුවට පස්සෙ භික්ෂු සංඝයා වෙතට ගිහින්, ස්වාමීනි දිවැස් ලැබූවන් අතර අගතැන් ලබන්න මොන විදිහෙ පින්කම්ද කරන්න ඕන කියල ඇහුවා. පහන් පින්කම් කරන එක ගොඩක් හොඳයි කියල උන්වහන්සේලා පැවසුවා.

ඊට පස්සෙ 10,000 බැගින් පහන් තියන්න පුළුවන් පහන් ගස් 1,000 ක් හැදුවා. ඒ වගේම ඊට වඩා කුඩා කුඩා පහන් ගස් බොහෝ ප්‍රමාණයක් හදල තථාගතයන් වහන්සේ වෙනුවෙන් පූජා කළා. මේ විදිහට ජීවිත කාලයේම බොහෝ පින් දහම් කරල මියගිහින් දෙව් ලොව ඉපදුනා. ඔය විදිහට සසර සැරිසරාගෙන එනකොට සුමේධ බුදු රජාණන් වහන්සේගෙ කාලයේ දවසක් උන්වහන්සේ ගහක් මුල වැඩ ඉන්නකොට ළඟට ගිහින් මේ විදිහට ප්‍රකාශ කරනවා.

මහා වීරයන් වහන්ස, ලෝක නාථයන් වහන්ස, නර ශ්‍රේෂ්ඨයන් වහන්ස, රුකක් මුල ධ්‍යාන කරන ඔබවහන්සේට මම පහනක් පූජා කරනවා. ඒ පහන තථාගතයන් වහන්සේ ඉවසා වදාරන සේක්වා. තථාගතයන් වහන්සේ නිහඬවම ඒක ඉවසා වදාළා.

ඒ කාලෙ මම ගස් විදල පහන් වැටි දහසක් හදල තථාගතයන් වහන්සේට පහන් පූජාවක් කළා. ඒ පහන් සතියක් තිස්සේ දැල්විලා තමයි නිවිල ගියේ. පහන් පූජාවෙන් ඇති වෙච්ච චිත්ත ප්‍රසාදයෙන් මරණයට පත්වෙලා දෙව් ලොව ඉපදුනා. සිද්ධ කරගත්ත පහන් පූජා පිනෙන් දෙව් ලොව නිර්මාණය වුන දිව්‍ය විමානය හැම තැනම බබළන්න ගත්තා. යොදුන් 100 ක් පමණ දුර ඒ බැබළීම තිබුනා. සියලු දෙවියන් අභිබවා හිටියා. කල්ප 30 ක් සක්දෙව් සම්පත් ලැබුවා. සියල්ලෝම මට යටත් වුනා. 28 වරක් සක්විති රජ වුනා. ඒ කාලෙ යොදුනක් දුර දිවා රාත්‍රී දෙකේම දැකීමේ හැකියාවක් ලැබුනා. මේ තමයි පහන් පූජාවෙන් ලැබුන ආනිසංසයක හැටි.

මේ විදිහට සසර ලෞකික සැප සම්පත් විඳිමින් කාශ්‍යප බුදු රජාණන් වහන්සේගෙ කාලයේ බරණැස් නුවර මනුස්සයෙක් වෙලා ඉපදුනා. කාශ්‍යප බුදු රජුන් පිරිනිවන් පෑවට පස්සෙ උන්වහන්සේගෙ ධාතු චෛත්‍ය වටා එකිනෙක යා කෙරෙන විදිහට ලෝහ තැටි තියල ගිතෙල් පුරවල පහන් පූජාවක් සිද්ධ කළා. රාත්‍රී එළිවෙනකල් එක පහන් තැටියක් හිසේ තියාගෙන ධාතු සෑය වටේ ප්‍රදක්ෂිණා කළා. ඒ අත්බැවේ තව බොහෝ පින්කම් කරල නැවතත් දෙව් ලොව ඉපදුනා.

මේ විදිහට බොහෝ කාලයක් දෙව් ලොව වාසය කරල අපේ ගෞතම සම්බුදුන් පහල වෙන්න කලින් බරණැස් නුවර දිළිඳු ගෙදරක "අන්නභාර" නමින් දුගියෙක් වෙලා ඉපදිලා සුමන කියන සිටුවරයා ළඟ වාසය කළා. ඒ සිටුවරයාත් දුගී මගී යාචකාදීන්ට දන් දෙන කෙනෙක්.



දවසක් "උපරිට්ඨ" කියන පසේ බුදු රජාණන් වහන්සේ නිරෝධ සමාපත්තියට සමවැදිල එයින් නැගිටල, අද කාටද පිහිට වෙන්න ඕන කියල බලල, දිළිඳු අන්නභාර දුගියා දැකල ඔහු වනයට ගිහින් ගෙදර එන වෙලාව බලල ගන්ධමාදන පර්වතයෙන් අහසට නැගිල ඔහු ඉදිරියේ වැඩ සිටියා. අන්නභාර, පසේ බුදු රජුන්ගේ හිස් වූ පාත්‍රය දැකල, ස්වාමීනි මොහොතක් ඔහොම වැඩ ඉන්න කියල ගෙදරට ගිහින් තමන්ගෙ බිරිඳගෙන් තමන්ගෙ ආහාර කොටස තියෙනවද කියල අහල, තියෙන බව කිව්වට පස්සෙ බුදු රජුන් වෙතට දුවල ගිහින් පාත්‍රය ඉල්ලගෙන ඇවිත් බිරිඳට මෙහෙම කිව්වා. සොඳුර අපි පෙර දන් පින්කම් හරියට කරල නැති නිසා තමයි අද දුප්පත් වෙලා ඉන්නෙ. දන් දෙන්න සිල්වතෙක් ඉන්නකොට අපිට දෙන්න කිසිවක් නෑ. දන් දෙන්න යමක් තියෙන වෙලාවෙ ප්‍රතිග්‍රාහක උතුමෙක් නෑ. අද නම් සියල්ලම සම්පූර්ණ වෙලා තියෙන්නෙ. ඒ නිසා මගෙ ආහාර කොටස මේ පාත්‍රයට බෙදල දෙන්න.

බිරිඳත් තමන්ගෙ ස්වාමියා පිනක් කර ගන්න යන මේ වෙලාවෙ, මමත් පිනක් කරගන්න ඕන කියල තමන්ගෙ ආහාර කොටසත් පාත්‍රයට බෙදුවා. අන්නභාර ඒ දාන පාත්‍රය පසේ බුදු රජුන්ට පිළිගන්වල මතු දුප්පත්ව නූපදීවා කියල ප්‍රාර්ථනා කළා. තමන්ගෙ උතුරු සළුව බිමට එළල, ස්වාමීනි මෙහි වැඩ හිඳින්න කියල එහිදිම දානය වළඳන්න කටයුතු සැලැස්වුවා. පසේ බුදු රජාණන් වහන්සේත් දානය වළඳල පින් දීල ආපසු වැඩම කළා. ඒ වෙලාවෙදි සුමන කියන සිටුවරයගෙ ගෙදර තිබුන සේසතට අධිගෘහිත දේවතාවා ඒ දානයට ප්‍රසංසා කරල තුන් වරක් සාදු නාද පැවැත්වුවා. මේක අහගෙන හිටපු සුමන සිටුවරයා, තමන් මෙතෙක් කල් දන් දුන්නත් ඒවාට සාධුකාර දෙන්නෙ නැතිව නිහඬව ඉඳල අද අන්නභාර දුගියගෙ දානයට ප්‍රසංසා කරල සාධුකාර දුන්නෙ මොකක් නිසාද කියල ඇහුවා.

ඔහුගේ දානය උතුමන් වහන්සේ නමක් උදෙසාම, තමන්ටත් භාර්යාවටත් ආහාරයට තිබ්ච්ච එකම කොටස දීපු විශේෂ දානයක් කියල දේවතාවා ප්‍රකාශ කළාම, සුමන සිටුවරයා අන්නභාර කෙරෙහි පැහැදිලා කහවනු දහසක් ඔබට පරිත්‍යාග කරන්නම්, මේ පිණ්ඩපාත දානය මගේ දානයක් විදිහට සළකනවද කියල අහල, එහෙම කරන්න බෑ කිව්වට පස්සෙ, එහෙනම් ඒ පින මා හට



අනුමෝදන් කරනවද කියල ඇහුවා. පසේ බුදු රජාණන් වහන්සේගෙන් අහනකල් ඒ ගැන කිසිවක් කියන්න බෑ කියල, ඒ කාරණය පසේ බුදු රජුන් වෙත ගිහින් විමසුවා. උන්වහන්සේ මෙහෙම දේශනා කළා.

**පින්වත, එක පහනකින් කොතෙක් පහන් දැල්වුවත් මුල් පහනේ එළිය අඩු වෙන්නෙ නෑ වගේ, තමන් කළ පින තවත් කෙනෙකුට අනුමෝදන් කිරීමෙන් පින වැඩි වෙනව මිසක් අඩු වෙන්නෙ නෑ. ඔබ දුන්නෙ එක පිණ්ඩපාත දානයක් නම් ඒ පින තවත් කෙනෙකුට අනුමෝදන් කළාම, එකක් තමන්ටත් අනික සිටුවරයාටත් වශයෙන් පිණ්ඩපාත දෙකක අනුසස් ලැබෙනවා.**

සුමන සිටුවරයා අන්නභාරව රජ මැදුරට කැඳවගෙන ගියාට පස්සෙ රජතුමා සිටුවරයා දිහා බලන්නෙ නැතිව අන්නභාර දෙසම බලාගෙන හිටියා. මේක දැකපු සුමන සිටුවරයා, ඒ විදිහට මොහු දෙසම බැලුවේ කුමන හේතුවක් නිසාද කියල ඇහුවම, මොහු අමුත්තෙක් නිසා එහෙම බැලුව කිව්වා. රජතුමනි, මොහු දිහා නෙවෙයි, මොහුගෙ කටයුතු දිහා බලන්න කිව්වා. මේ විදිහට අන්නභාර ගැන රජතුමාට විස්තර පැහැදිලි කරල තමන් විසින් මොහුට කහවනු දහසක් දුන්න බවත් මතක් කළා.

මෙයින් පැහැදීමට පත්වෙච්ච රජතුමාත් කහවනු දහසක් දීල, මොහුට නිවසක් හදල දෙන ලෙසත් සිටුවරයාට මතක් කළා. සුමන සිටුවරයා රජුගේ නියෝගයෙන් ඔහුට නිවසක් හදල දෙන්න ගෙපලක් සුද්ධ කරනකොට උදැල්ල ගහන ගහන තැන මහා නිධාන මතු වෙන්න පටන් ගත්තා. සිටුවරයා මේ කාරණය රජතුමාට දැනුම් දුන්නම, එහෙනම් ඒවා ගොඩගන්න කියල නියෝග කළා. ඉන්පසු හාරන හාරන නිධාන පොළව යටට යන්න පටන් ගත්තා. නැවතත් ඒ බව රජතුමාට දැනුම් දුන්නම, අන්නභාරගේ වචනයෙන් ගොඩගන්න අණ කළාම බොහෝ ධන නිධාන මතු වුනා.

ඒ සියලු ධනය රජ මාළිගාවට ගෙනිහින් රජතුමා ඉදිරියේ තිව්වම ඇමතියන් කැඳවල, අන්නභාරට වැඩිය ධනවත් කෙනෙක් මේ නුවර ඉන්නවද කියල අහල එසේ නැති බව කිව්වම, ධන සිටාණෝ කියල ඔහුට සිටු තනතුරක් පිරිනැමුවා. එතැන් පටන් ඔහු බොහෝ පිංකම් කරල මරණින් පසු සසර ගමන තුල දෙව් මිනිස් අත්බැව් ලබමින් ඇවිත් ගෞතම බුදු රජුන් පහල වෙච්ච කාලෙ කිඹුල්වත් නුවර අමිතෝදන රජ කුලයේ අනුරුද්ධ නමින් ඉපදිලා ප්‍රසිද්ධ වුනා.

දවසක් අනුරුද්ධ කුමාරයා තවත් කුමාරවරු තුන් දෙනෙක් සමග කැවුම් ඔට්ටුවට තියල සූදු ක්‍රීඩාවේ යෙදිල තුන් වතාවක් පරාජයට පත් වුනා. නැවතත් කැවුම් ඉල්ලල මෑණියන්ට පණිවිඩ යැව්වත් කැවුම් ඉවර වෙලා තිබුන නිසා "කැවුම් නැත" කියල දැන්වුවා. "නැත" යන වචනය ඊට ඉස්සර වෙලා අහල තිබුනෙ නැති නිසා ඒකත් එක කැවුම් වර්ගයක් කියල හිතල, නැති කැවුම් එවන්න කියල පණිවිඩයක් යැව්වා.

ඊට පස්සෙ අනුරුද්ධ කුමාරයගෙ මව තමන්ගෙ පුතා නැත කියන එකේ තේරුම දන්නෙ නැති නිසා, ඒකෙ අර්ථය වටහල දෙන්න ඕන කියල රන් තලියක් තවත් රන් තලියකින් වහල, මේ නැති කැවුම් පුතාට ගෙනිහින් දෙන්න කියල හිස් රන් තලිය යැව්වා. ඒක දැකපු ඒ නුවරට අරක් ගත්ත දේවතාවා කුමාරයගෙ පෙර දන් දීපු පින් මහිමය නිසා ඒ හිස් රන් තලිය දිව්‍යමය කැවුම්වලින් පිරෙව්වා. ඒක අරගෙන ගිය තැනැත්තා, නැති කැවුම් කන්න කියල කුමාරයට රන් තලිය දුන්නා. ඒ රන් තලිය විවෘත කරනකොටම පැතිරිලා ගිය සුවඳින් සතුටු වෙලා සියලු කුමාරවරු සමග කැවුම් අනුභව කළා.

මේ විදිහට සැපසේ වැඩෙන අනුරුද්ධකුමාරයටසෘතුතුනටගැලපෙන ආකාරයට මාලිගා තුනකුත් තිබුනා. ඔහුට මහානාම කියල සහෝදරයෙක් හිටියා. මේ දෙන්නම ඉතා ධනවත් අය. මේ කාලෙ ගෞතම බුදු රජුන් තමන්ගෙ උපන් දේශය වුන කිඹුවල්වත්පුරයට වැඩම කරල චාරිකාවේ හැසිරෙමින් මල්ල දරුවන්ගේ රටේ "අනුපිය" කියන අඹ වනයට වැඩම කරල වාසය කළා. ඒ කාලෙ සුද්ධෝදන රජතුමා ශාක්‍ය කුමාරවරුන් රැස් කරල, තමන්ගෙ සිද්ධාර්ථ පුතුන් ගිහි ගෙදර හිටියොත් සක්විති රජ වෙනවා, එතකොට අපේ පරපුරේ ඔබ සියලු දෙනාම එකට කටයුතු කරන්න ඕන කියල මීට පෙර ප්‍රකාශ කරල තිබුනා. නමුත් දැන් සිද්ධාර්ථ කුමාරයා ලොව්තුරා බුද්ධත්වයට පත් වෙලා ඉන්න නිසා නුඹලා වෙන් වෙලා වාසය කරනවා. ඒ නිසා එක් එක් කුල දරුවෙක් බැගින් මහණ වෙන්න ඕන කියල දැන්වුවම, 500 ක් කුමාරවරු සාසනයේ පැවිදි බිමට පත් වුනා.

ඒ කාලෙ අනුරුද්ධ කුමාරයගෙ ගෙදරින් කවුරුවත් පැවිදි වුනේ නැති නිසා, ඔහුගෙ සහෝදරයා වන මහානාම කුමාරයා ඔහු ළඟට ගිහින්, ප්‍රසිද්ධ කුමාරවරු දැන් මහණ වෙලා ඉන්න නිසා අපි දෙන්නගෙන් එක් කෙනෙක් පැවිදි වෙන්න ඕන, ඒ නිසා ඔබ පැවිදි වෙන්න කිව්වා. එතකොට අනුරුද්ධ කුමාරයා, මම ඉතාම සියුමැලි නිසා පැවිදි වෙන්න බෑ කිව්වා. ඊට පස්සෙ මහානාම කුමාරයා පැවිදි වෙනව කියල හිතාගෙන ඔහුට ගිහි ගෙදර සියලු කටයුතු කරන ආකාරය පහදල දුන්නා.

කෘෂි කර්මාන්ත කටයුතු කියන්නෙ මේකයි. පළමුව සීසාන්න ඕන. ඊට පස්සෙ වපුරල ටික දවසකින් දිය බඳින්න ඕන. නැවතත් වතුර ඉවත් කරල තණකොළ ආදිය පැළ වෙනකොට උදුරල දාන්න ඕන. ඊට පස්සෙ ගොයම් පැහීගෙන එනකොට සත්තුන්ගෙන් ආරක්ෂා කරගන්න ඕන. නැවත ගොයම් කපල පිදුරු ඉවත් කරල පොලල බොල් ඉවතට දාල බැත ගෙට ගන්න ඕන. මේ විදිහට නැවත නැවතත් සී සෑම් ආදිය කරමින් කටයුතු කරන්න වෙනවා. ඒ නිසා කම් සැප විඳිමින්ම සුවසේ කාලය ගෙවන්න ලැබෙන්නෙ නෑ. මියයනකල්ම ගිහි ගෙදර වැඩ කටයුතු ඉවරයක් වෙන්නෙ නෑ. මේ විදිහට කෘෂි කර්මාන්තය ගැන විතරක්ම විස්තර කළාට පස්සෙ අනුරුද්ධ කුමාරයා කියනවා, සහෝදරයා ඔබම ගිහි ගෙයි කටයුතු කරමින් වාසය කරන්න, මම පැවිදි වෙන්නම් කියල.

එහෙම කියල මවගෙන් පැවිදි වෙන්න අවසර ඉල්ලුවත් ඒක හරි ගියේ නෑ. දෙවෙනි වාරයෙත් අවසර ගන්න බැරි වුනා. තුන් වෙනි වාරයෙත් අවසර ඉල්ලුවම අනුරුද්ධ කුමාරයගෙ මව හිතනවා, භද්දිය කුමාරයා අනුරුද්ධ කුමාරයගෙ බොහොම සමීප මිතුරෙක් නිසා, ඔහු කවදාවත් ගිහි ගෙදර අත් හැරල යන කෙනෙක් නෙවෙයි, ඒ නිසා භද්දිය කුමාරයත් එක්ක පැවිදි වෙන්න කිව්වොත් ඔහු පැවිදි නොවෙන නිසා අනුරුද්ධ කුමාරයා නවතියි කියල. එහෙම හිතල පැවිදි වෙනව නම් භද්දිය කුමාරයා සමග පැවිදි වෙන්න කිව්වා.

අනුරුද්ධ කුමාරයා යහළු භද්දිය කුමාරයා ළඟට ගිහින්, යහළුවා මගේ පැවිදි වීම සම්බන්ධ වෙලා තියෙන්නෙ ඔබ සමගයි කිව්වම, ඔබගේ පැවිද්ද මා සමග බැඳුනත් නොබැඳුනත් ඔබ කැමති පැවිද්දකින් පැවිදි වෙන්න කිව්වා. එහෙනම් අපි දෙන්නම පැවිදි වෙමු කියල අනුරුද්ධ කුමාරයා කිව්වම භද්දිය කුමාරයා පැවිද්ද ප්‍රතික්ෂේප කළා. යහළුවා මගේ මෑණියන් ඔබ පැවිදි වෙනව නම් මටත් පැවිදි වෙන්න අවසර දීල තියෙන්නෙ, ඔබ මුලින් කැමති වෙලා නැවත ඒක ප්‍රතික්ෂේප කළේ ඇයි කියල ඇහුවම භද්දිය කුමාරයටත් කරන්න දෙයක් නැතිව, එහෙනම් තව අවුරුදු 7 කින් පැවිදි වෙමු කියල යෝජනා කළා.

යාළුවා හත් අවුරුද්දක් කියන්නෙ බොහොම දිගු කාලයක් කිව්වම, එහෙනම් අවුරුදු හයකින් පැවිදි වෙමු කිව්වා. මේ විදිහට පිළිවෙලින් කාලය අඩු කරගෙන අවසානයේ දින හතකින් පැවිදි වෙන්න තීරණ කරල මේ දෙන්නම එක්ක ආනන්ද, භගු, කිම්බිල, දේවදත්ත කියන හතර දෙනා පැවිදි වෙන්න පිටත් වුනා. තමන්ගෙ රාජධානිය පහු කරල වෙනත් රාජධානියකට ආවට පස්සෙ සියලු කුමාරවරු ආභරණ ගලවල සළුවක ඔතල, මේක ඔබට ජීවත් වෙන්න ප්‍රමාණවත් කියල ආභරණ පොදිය තමන්ගෙ සේවක උපාලි කපුවා අතට දුන්නා.

කුමාරවරු එතැනින් යනකල් ඉඳල උපාලි කපුවා කල්පනා කරනවා, යම් විදිහකින් මේ ආභරණ අරගෙන මම ආපහු ගියොත්, මොහු අපේ කුමාරවරු මරල ආභරණ පැහැරගෙන ආව කියල ශාක්‍යයෝ මාවත් මරල දාන්න පුළුවන් කියල. එහෙම හිතල මේ කුමාරවරුත් එක්ක මමත් පැවිදි වෙනව කියල ඒ ආභරණ පොදිය ගහක එල්ලල දුටු කෙනෙක් ගනිත්වා කියල උපාලි කපුවා කුමාරවරු ළඟටම ගියා. ඔහු දැකපු කුමාරවරු ඔබ කළෙත් ඉතා යහපත් දෙයක් කියල ඔහුට ප්‍රසංසා කළා.

ඊට පස්සෙ ඒ කුමාරවරු උපාලි කියන කපුවත් එක්ක තථාගතයන් වහන්සේ මුණගැහෙන්න ගිහින්, ස්වාමීනි ශාක්‍යයෝ වන අපි පැවිදි වීම සඳහා ආ බවත්, ශාක්‍යයන් අධික මානයෙන් යුක්ත අය නිසා මානය දුරු වෙන්න අපේ සේවකයෙක් වන මේ උපාලි කපුවා පළමුව පැවිදි කරන්න කියලත් ඉල්ලා සිටියා. එතකොට අපිට මොහුට වැඳීම්, ගරු කිරීම් කරන්න පුළුවන් නිසා අපේ මානයත් දුරු වෙලා යයි කියල තථාගතයන් වහන්සේට මතක් කළා.

බුදු රජාණන් වහන්සේත් උපාලි කපුවා පළමුව පැවිදි කරල, දෙවනුව සෙසු කුමාරවරු පැවිදි කළා. පැවිදි වෙච්ච අවුරුද්දෙම ආනන්ද හිමි සෝවාන් වුනා. දේවදත්ත හිමි ලෞකික සෘද්ධියක් උපදවා ගත්තා. අනුරුද්ධ තෙරුන් සාරිපුත්ත මහ රහතන් වහන්සේගෙන් කමටහන් අරගෙන චේතිය රටේ පාචීනවංශ කියන මුව වනයට වැඩල භාවනා කළා. බවුන් වඩල වෙහෙසට පත් වෙලා හිටපු තෙරුන් වහන්සේ දුටු බුදු රජුන් ඒ ස්ථානයට වැඩම කරල මහා අරියවංශ දේශනාව වදාරළ භේසකලා වනයට වැඩියා. අනුරුද්ධ තෙරුන් වහන්සේ එතැනදීම අරිහත්වයට පත් වුනා.

මෙයින් කල්ප 30 කට පෙර සුමේධ බුදු රජුන්ට යම් පහන් පූජාවක් කළේද, එයින් සසර බොහෝ සම්පත් ලබල කෙලෙස් නසල අරිහත් වෙන්නත් දිවැස් ලබන්නත් හේතු වුන බව උන්වහන්සේ ප්‍රකාශ කළා. බොහෝ කල් සාසනික කටයුතු කරමින් වැඩ ඉඳල, පළවෙනි ධර්ම සංගායනාවෙදි අංගුත්තර නිකාය ප්‍රගුණ කිරීම තමන්ගෙ අතවැසි පරපුර සඳහා බාර ගත්ත අනුරුද්ධ රහතන් වහන්සේ අවුරුදු 150 ක් කල් වැඩ ඉඳල පිරිනිවන් පා වදාළා. දැන් බලන්න මේ කතා පුවතේ එන චරිතවල හැසිරීම් රටා, ක්‍රියා වදන් අද කාලයට කොච්චර ආදර්ශමත්ද කියල.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

# නිවන් ලැබ දෙන කමටහන්...

13 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මේ සටහන් කරන්නෙ. උන්වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, අනාදිමත් කාලයක් තිස්සේ පැවතෙන පෙළ දහම් ගාථා කොටස් කමටහන් විදිහට සඳහන් කරල තියෙන්නෙ, ඒවා අර්ථවත්ව තේරුම් අරගෙන සමාධිගත වෙලා වැඩීමෙන් මහත් ප්‍රතිඵල ලැබෙන බවට උන්වහන්සේ විසින් ප්‍රත්‍යක්ෂ අත්දැකීම් ලබාගෙන ප්‍රකාශ කරල තියෙන නිසා.

සමහර කමටහන් බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පින්වතුන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ වගේම මේ කමටහන්වල සඳහන් සමහර කමටහන් වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කමටහන් වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

291. සම්මා තිසරණ සරණයි
ඉතිපි සෝ භගවා අරහං

292. නමෝ අරහං
නමෝ සම්මා සම්බුද්ධෝ
නමෝ විජ්ජාචරණ සම්පන්නෝ
නමෝ සුගතෝ
නමෝ ලෝකවිදූ
නමෝ අනුත්තරෝ
පුරිසධම්ම සාරථී
නමෝ සත්ථා දේවමනුස්සානං
නමෝ බුද්ධෝ
නමෝ භගවාති

අවශ්‍ය නම් මේ සෑම බුදු ගුණයක්ම තනිව අරගෙන වෙන වෙනම කමටහන් විදිහට වඩන්නත් පුළුවන්. හැබැයි එහෙම වෙනම ගන්නකොට මේ බුදු ගුණ නවයෙන් අවසන් බුදු ගුණය "නමෝ භගවා" කියලයි වඩන්න ඕන. මොකද "ති" කිව්වොත් එතැනින් අවසන් වෙන නිසා.

දැන් මේ කර්මස්ථානය වඩනකොට දැන ගත යුතු ඉතා වැදගත් කාරණයක් උදාහරණ උපමා සහිතව වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ මේ විදිහට විස්තර කරනවා.

මේ බුදු ගුණ කර්මස්ථානයක්. බුද්ධානුස්සතිය කියන්නෙ සතර කමටහන්වලින් එකක්. මෙතැනදි ලෞකික / ලෝකෝත්තර වශයෙන් බුදු ගුණ දකින දෙපැත්තක් තියෙනවා. මේ කාරණය උපමාවකින් මේ විදිහට පැහැදිලි කරන්න පුළුවන්. ගුරුවරයෙක්, වෙදෙක් ලෝකයට විද්‍යමාන වෙන්නෙ ගුරුකම / වෙදකම කරන්න පටන් ගත්තට පස්සෙ. ගුරුවරයෙක් ඇවිත් නිකං හිටියට කවුරුවත් ඔහුව ගුරුවරයෙක් කියල හඳුනගන්නෙ නෑ. පන්තියක් දාල දවසක් දෙකක් උගන්වන්න ගත්තට පස්සෙ තමයි ළමයි ඔහුට ගුරුතුමා / සර් කියල කතා කරන්න පුරුදු වෙන්නෙ.

වෙද මහත්තයෙක් වුනත් එහෙමයි. යම් කිසි ගමකට ඉස්සෙල්ලම වෙද මහත්තයෙක් ඇවිත් කාගෙන් හරි ඇහුවොත් අහවල් තැනට යන්නෙ කොහොමද කියල, ඒ මනුස්සය කිසිම ගරුසරුවක් නැතිව ඔන්න ඔහොම ගිහින් දකුණට හැරෙන්න කියල නිකං අත දික් කරල යන්න යාවි. දැන් වෙද මහත්තය ඇවිත් ගෙයක් කුලියට අරගෙන නතර වෙනවා. පස්සෙ අර පුද්ගලයට ආරංචි වෙනවා, අහවල් ගෙදර කුලියට අලුතින් කෙනෙක් ඇවිත් කියල. ඊට පස්සෙ ඔහුව දකින කොට මතක් වෙනවා, මමනෙ ඔය මනුස්සයට පාර පෙන්නුවෙ කියල. දවස් 2 - 3 ක් ගිහින් ඔහු සිංහල වෙද මහත්තයෙක් කියල දැන්වීමකුත් දානවා. දැන් කලින්ට වඩා පොඩි ගරුත්වයක් ඇතිවෙනවා, මම එදා පාර පෙන්වල තියෙන්නෙ නිකං කෙනෙකුට නෙවෙයි වෙද මහත්තයෙකුටනෙ කියල. ඊළඟට මේ වෙද මහත්තය ළඟට පිළිකා හෝ අංශභාග රෝගියෙක් හෝ ගිහින් සනීප වෙලා ඇවිත් ගමේ ආරංචිය යනවා. දැන් අර මනුස්සයට කලින්ටත් වඩා ගරුත්වයක් ඇතිවෙනවා, මේ නිකං වෙද මහත්තයෙක් නෙවෙයි,

බොහොම දක්ෂ වෙද මහත්තයෙක් කියල. ඊට පස්සෙ වෙද මහත්තයව මගදි මුණගැහුනොත්, එහෙම නැත්නම් තමන්ගෙ ගෙදරට ආවොත් ඒ මනුස්සය කොහොමද සළකන්නෙ? ආ... වෙද මහත්තයෝ කියල මහා සතුටකින් ගරුත්වයකින් කතා කරල එහෙම පිළිගන්න සිරිතක් තියෙනවා.

දැන් එතකොට එදා ඉස්සෙල්ලම දවසෙ පාරෙදි දැක්ක වෙද මහත්තයට ඇයි එහෙම සැළකුවෙ නැත්තෙ? එදා නිකං මනුස්සයෙක් දැක්ක මිසක් වෙද මහත්තයෙක් දැක්කෙ නෑ. වෙදකම කරන්න පටන් ගත්තට පස්සෙ තමයි වෙදා විද්‍යමාන වෙන්නෙ.

අන්න ඒ වගේ, බුදුන් වහන්සේත්, එහෙම නැත්නම් බුද්ධ රූපයක් ඉස්සෙල්ලම දැක්කම බුදු ගුණ දකින්නෙ නෑ. ලස්සන රූපයක්, ප්‍රසන්න පෙනුමක් තියෙන, උසට සරිලන මහත තියෙන මෙහෙම කෙනෙක් කියල... ඒ වගේ බාහිර පැත්තෙන් තමයි ඉස්සෙල්ලම දකින්නෙ. ඉතින් ඒ වගේ බාහිර පැත්තක් දැකල වුනත් ඉස්සෙල්ලම බුද්ධ පූජාවක් තියල පැහැදෙනව නම් ඒකත් නරක නෑ. ඒ තමයි පළමුවෙන්ම ලෞකික වශයෙන් බුදු ගුණ දකින විදිහ. ඒ විදිහට ක්‍රමානුකූලව බුද්ධ පූජාව තියල, බණ ටිකක් අහල, ධර්ම සාකච්ඡාවක් කරල දහම් අවබෝධයක් ලැබුවට පස්සෙ දකිනවා, බුදුන් වහන්සේ කියන්නෙ මේ ජාතියේ උත්තමයෙක් කියල. ඉස්සෙල්ල අර විහාර මන්දිරයට, චෛත්‍යය ළඟට, බෝධිය ළඟට ගිහින් ඒ ස්ථානවල තැන්පත් කරල තියෙන බුද්ධ ප්‍රතිමා වහන්සේ ළඟට ගිහින්, වැහැරිලා වැනසෙන මස් ලේ කයේ බාහිර ලස්සන දැකල තමයි මල් පහන් පූජා කරන්නෙ. ටිකක් දැනුවත් වුනාට පස්සෙ තමයි බුදු ගුණ තුලින්, ධර්මය තුලින් බුදුන් වහන්සේව කවුද කියල දකින්නෙ. ඒක දැනගත්තට පස්සෙ ඔහු විහාර මන්දිරයට, චෛත්‍යය ළඟට, බෝධිය ළඟට ගියත් නොගියත් ඒ ගුණ සමුදාය දැකල ගුණයට වන්දනා කරනවා, බුදු ගුණ දකිනවා.

**එතකොට බුදුන් වහන්සේ විසින්ම උන්වහන්සේගේ ජීවිත කාලයම වෙන මුකුත් දේශනා නොකර අනෙක් කටයුතු සියල්ල අත්හැරල එක බුදු ගුණයක් දේශනා කළත්, එහෙම නැත්නම් කල්පයක් තිස්සේ දේශනා කළත්, ජීවිත කාලය / කල්පය අවසන් වෙනව මිසක් බුදු ගුණ අවසන් වෙන්නෙ නෑ කියල එක තැනක කියනවා.**

**බුද්ධෝපි බුද්ධස්ස හනෙයිය වණ්ණං කප්පම්පි චේ අඤ්ඤ මහාස මානෝ ඛීයේත කප්පෝ චිර දීඝ මන්තරේ වණ්ණෝන ඛීයේන තථාගතස්ස**

තව තැනකදි, බුදුන් වහන්සේට අරහං කියන්නෙ ඇයි කියල ඇහුවම, කෙළෙසුන් කෙරෙන් දුරු වන සේක, රහසින්වත් පව් නොකරන සේක, සියලු පූජාවන් ලැබීමට සුදුසු වන සේක, ඒ නිසා අරහං නම් වන සේක... කියල ඔහොමත් කියනවා. එතකොට **බුදුන් වහන්සේම බුදු ගුණයක් දේශනා කරල, උන්වහන්සේගේ ජීවිත කාලය අවසන් වුනත්, කල්පය අවසන් වුනත්, බුදු ගුණ අවසන් වෙන්නෙ නැත්නම්, අපි කොහොමද විනාඩියක් යන්නත් පෙර අරහං ගුණය විස්තර කරන්නෙ? එතකොට මේ කතා දෙක පරස්පරයි. ඒ නිසා එතැනදි අසීමිත බුදු ගුණ සීමා කරපු වරදට අහුවෙනවා. බුදු ගුණ වැඩුවට හරියට වැඩෙන්නෙ නැත්තෙ ඒකයි. දම්, සඟ ගුණත් එහෙමයි. ඒ නිසා බුදු ගුණ අනන්තයි, දම් ගුණ අනන්තයි, සඟ ගුණ අනන්තයි කියන තැන ඉඳගෙන තෙරුවන් ගුණ වඩන්න ඕන. ඒ අදහස තියාගන්න ඕන.**

එතකොට ජීවිත කාලයක් කිව්වත්, කල්පයක් කිව්වත්, බුදු ගුණ අවසන් වෙන්නෙ නෑ කියල අපි කිව්වට, පෘතජ්ජන අය මුළු ජීවිත කාලයේම බුදුන් වහන්සේ පිටුපසින් යමින්, කනබොන, යන එන හැම වෙලාවකම සෝදිසියෙන් පරීක්ෂාවෙන් හිටියත් පුහුදුන් කෙනෙකුට දකින්න ලැබෙන්නෙ බුදු ගුණ 10 යි. බුදුන් වහන්සේ දස අකුසල් කරන්නෙ නෑ කියල කියනවා මිසක් සාමාන්‍ය පෘතජ්ජනයෙකුට වෙන ගුණයක් කියන්න බෑ. හැබැයි සෝවාන් වෙනවා කියන්නෙ මානසිකත්වයේ වෙනසක්, ප්‍රඥාවේ අවදි වීමක්. එතකොට සෝතාපන්න වුන කෙනා එතැන් පටන් තමන්ගෙ මට්ටමෙන් (සෝවාන් මට්ටමෙන්) බුදු ගුණ දකිනවා.

ඊළඟට සෝවාන් කෙනෙකුට මිසක් ඊට මෙහා කෙනෙකුට සකෘදාගාමී වෙන්න බෑ. ඒ නිසා සකෘදාගාමී වෙච්ච කෙනා ඒ මට්ටමට බුදු ගුණ දකිනවා. ඔය විදිහට ගිහින් අරිහත් වුනාම ඒ මට්ටමෙන් බුදු ගුණ දකිනවා. කවුරුහරි කියනව නම් අරිහත්වයට වඩා එහා ගිය එක බුදු ගුණයක් හරි බුදුන් වහන්සේට තියෙනවයි කියල ඒ බුදු කෙනෙක්ම විය යුතුයි. ඒ කියන්නෙ අරිහතුන් වහන්සේටවත් අරිහත්වයෙන් එහා තියෙන බුදුන් වහන්සේගේ බුදු ගුණයක් කියන්න බෑ. එහෙම කියනව නම් ඒ තවත් බුදුවරයන් වහන්සේ නමක්ම විය යුතුයි.

හැබැයි අරිහතුන් වහන්සේත් අරිහත්වයෙන් එහාට බුදු ගුණ කියන / දකින ක්‍රමයක් තියෙනවා. ඒක උපමාවකින් මේ විදිහට පහදන්න පුළුවන්. ගුරුවරයෙක් ශිෂ්‍යයෙක්ගෙන් ප්‍රශ්න 1,000 ක් අහනවා. පළවෙනි ප්‍රශ්නයට නිවැරදිව එක එල්ලේම උත්තර දෙනවා. දැන් ගුරුවරයා ශිෂ්‍යයා ගැන යම් පමණකට පැහැදෙනවා. ඔහොම ගිහින් ප්‍රශ්න 2 - 3 - 4 ක් අහනවා. ඒවාටත් චකිතයක් නැතිව නිවැරදිව එක එල්ලේම උත්තර දෙනවා. දැන් තවත් පැහැදෙනවා. ඔහොම ගිහින් ප්‍රශ්න 400 - 800 - 999 ම අහනවා. 999 වෙනි ප්‍රශ්නයටත් පැහැදිලිව නිවැරදිව එක එල්ලේම උත්තර දෙනවා. ඒ නිසා තවත් පැහැදෙනවා. දැන් අවසන් ප්‍රශ්නය තමයි අහන්න තියෙන්නෙ. නමුත් ගැටළුව තියෙන්නෙ, ගුරුවරයත් ඒ අවසන් ප්‍රශ්නයට උත්තරය දන්නෙ නෑ. ඒත් ශිෂ්‍යයාගෙන් අවසන් ප්‍රශ්නයත් අහනවා. ඒකටත් එක එල්ලේම කිසිම බියකින්, තිගැස්මකින්, චකිතයකින් තොරව අර වගේම උත්තර දෙනවා. හැබැයි ඒ අවසන් උත්තරය හරිද නැද්ද කියන්න ගුරුවරයා දන්නෙත් නෑ. ඒ නිසා දැන් ගුරුවරයා මොකද කරන්නෙ, ප්‍රශ්න 999 කටම බියකින්, සැකයකින්, චකිතයකින් තොරව හරියටම උත්තර දුන්න නිසා, අවසන් උත්තරයත් හරියන්න ඕන කියන අදහසේ ඉඳගෙන අර ශිෂ්‍යයා දීපු උත්තරය හරියි කියල නිගමනය කරනවා.

අන්න ඒ වගේ, යම් කෙනෙක් දස අකුසලයෙන් වෙන් වෙච්ච වෙලාවෙ ඉඳල, බුදුන් වහන්සේ දේශනා කරපු දහම් මග අනුගමනය කරල ඒකෙ ප්‍රතිඵලයක් විදිහට පූර්ණ අභිඥා සහිත අරිහත්වය සාක්ෂාත් කරගත්තට පස්සෙ, ගස් ගල් පර්වත ප්‍රාකාර විනිවිඳ යන්න පුළුවන් මානසිකත්වය ගොඩ නගා ගත්තට පස්සෙ, අර දස අකුසල්වලින් වැළකිලා අරිහත්වය පූර්ණ කිරීම ගැන දැනීමත් ලබල, ඒ පදනමේ ඉඳගෙන බුදුන් වහන්සේගේ මීට වඩා ගුණ තියෙනවා කියල අනුමාන ඥානයෙන් දකිනවා. එහෙම දැකල කියනව මිසක් අරිහතුන් වහන්සේටවත් බුදු ගුණ කියන්න වෙන ක්‍රමයක් නෑ. හැබැයි අපි සාමාන්‍ය මිනිස්සුන්ට තේරෙන්න බුදු ගුණ ඒ විදිහට උපමාවකින් කිව්වට, අපේ

අනුමාන ඥානය වගේ එකක් නෙවෙයි අරිහතුන් වහන්සේගේ අනුමාන ඥානය. අපිට අර මිනිස්සුන්ට කියල දෙන්න විදිහක් නැති නිසා තමයි ඒ විදිහට කියල දෙන්නෙ. නමුත් අරිහතුන් වහන්සේ ඊට එහා ගිය අත්දැකීමකින් තමයි බුදු ගුණ කියන්නෙ. අන්න ඒ විදිහට තමයි අපිත් බුදු ගුණ දකින්න ඕන. මේ කියන අදහසේ ඉඳගෙන තමයි මේ බුදු ගුණ කර්මස්ථානත් වඩන්න ඕන.

293.ඉතිපි සෝ භගවා... ති
මමද සියලු ලෝක
සියලු සත්වයෝ
සසර දුකෙන් මිදෙත්වා
අමා නිවන් දකිත්වා
(ඉරි ඇඳි කොටස වැඩි වාර
ගණනක් වඩන්න) නැවතත්
ඉතිපි සෝ භගවා... ති

294.සම්මා සම්බුද්ධ රතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සම්මා සද්ධම්ම රතනාලෝකයෙන්
ආලෝක වෙත්වා
සම්මා සංඝ රතනාලෝකයෙන්
ආලෝක වෙත්වා ///

295.බුද්ධානුභාවයෙන්
ආලෝක වෙත්වා
ධම්මානුභාවයෙන්
ආලෝක වෙත්වා
සංඝානුභාවයෙන්
ආලෝක වෙත්වා

296.සම්මා සම්බුද්ධ සවණක් ගණ
බුද්ධ රශ්මි මාලාවෙන්
ආලෝක වෙත්වා
(වැඩි වාර ගණනක්)

297.බුද්ධ සූරිය ආලෝකයෙන්
ආලෝක වෙත්වා
බුදුන්ගේ ප්‍රඥාලෝකයෙන්
ආලෝක වෙත්වා
බුදුන්ගේ ධර්මාලෝකයෙන්
ආලෝක වෙත්වා
බුදුන්ගේ සංඝාලෝකයෙන්
ආලෝක වෙත්වා
(වැඩි වාර ගණනක්)

298.බුද්ධ සූරිය ආලෝකයෙන්
ආලෝක වෙත්වා
(වැඩි වාර ගණනක්)

299.මුනිඳු පුදන මගෙ සිත ආලෝකයි
මුනිඳු පුදන මගෙ ගත ආලෝකයි
නිවන් දකින මගෙ සිත ආලෝකයි
නිවන් දකින මගෙ ගත ආලෝකයි

300.පව් නොකරන මගෙ
සිත ආලෝකයි
පව් නොකරන මගෙ
ගත ආලෝකයි
තරහ නොයන මගෙ
සිත ආලෝකයි
තරහ නොයන මගෙ
ගත ආලෝකයි
(ද්වේශ චරිත ඇති අයට සුදුසු
ආලෝක කර්මස්ථානයකි)

301.මමද සියලු ලෝක සියලු සත්වයෝ
ලෝක හිර බන්ධනයෙන්
නිදහස් වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

302.සම්මා සම්බුදු සරණයි
සියල්ලද සියල්ලෝද
ලෝභ අඳුරෙන් මිදෙත්වා
ද්වේශ අඳුරෙන් මිදෙත්වා
මෝහ අඳුරෙන් මිදෙත්වා
රාග අඳුරෙන් මිදෙත්වා
අවිදු අඳුරෙන් මිදෙත්වා

303.රූප නිස්සාරයි
රූපයේ නොඇලෙමි
වේදනා නිස්සාරයි
වේදනාවේ නොඇලෙමි
සංඥා නිස්සාරයි
සංඥාවේ නොඇලෙමි
සංඛාර නිස්සාරයි
සංඛාරයේ නොඇලෙමි
විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණයේ නොඇලෙමි
ලෝකය නිස්සාරයි
ලෝකයේ නොඇලෙමි

304.චක්ඛායතන අනාථයි
රූපායතන අනාථයි
සෝතායතන අනාථයි
ශබ්දායතන අනාථයි
ඝානායතන අනාථයි
ගන්ධායතන අනාථයි
ජිව්හායතන අනාථයි
රසායතන අනාථයි
කායායතන අනාථයි
පොට්ඨබ්බායතන අනාථයි
මනායතන අනාථයි
ධම්මායතන අනාථයි
නිවනම නාථයි
සංසිඳීම නාථයි
(වැඩි වාර ගණනක්)

305.ආපෝ ධාතු අනාථයි
තේජෝ ධාතු අනාථයි
වායෝ ධාතු අනාථයි
පඨවි ධාතු අනාථයි
අතහැරීම නාථයි
නොඇලීම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි ///

306.තුච්ඡ වූ නින්දිත වූ ළාමක වූ
පංච කාමයෝ
රාග ද්වේශ මෝහයෝ
මා කරා නොපිහිටාවා
ශාන්ත වූ ප්‍රණීත වූ උතුම් වූ
අමා නිවන මා කරා පිහිටාවා

307.මේ කුණු කය දින දින
දිය වෙනවා
වැහැරි වැහැරි ඇටකටු
මතු වෙනවා
මස කුණු වී කටු
විසිරී යනවා
කුමකට මේ කුණු කය
පිනවනවා

308.අනිච්චාවත සංඛාරා
උප්පාද වය ධම්මිනෝ
උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති
තේසං වූප සමෝ සුඛෝ

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

25 වන කොටස

**සංයුක්ත නිකාය - 1**

කවි සූත්‍රය - 70 පිටුව

ගාථාවන්ට / කවිවලට ඡන්දස (මාත්‍රා, ගණ, පද) නිදානයි. අකුරු අරුත් පවසයි. ගාථාවෝ සඤ්ඤා ඇසුරු කොට පවතියි. කවි ගාථාවන්ට පිහිටයි. (අවි ක්‍ෂය කරන බැවින් කවි වේ. කෙළෙස් අවි ක්‍ෂය කරන්නේ දහම් අරුත් සහිත කවියි. මෙය වහරක අභයරතනාලංකාර මහ තෙරුන්ට ආ නිරුක්ති අරුතකි.)

(ඡන්දස යනුවෙන් බමුණන්ටද අමතයි. බමුණන්ගේ මූලික භාෂාව සංස්කෘත නිසා, මේ දහම ඡන්දසට නොනැගිය යුතුයි යනුවෙන් දේශනා කොට ඇත්තේ සංස්කෘත භාෂාවට නොනැගිය යුතුයි යන්න බව අවස්ථානුකූලව තේරුම්ගත හැකියි. විවිධ අර්ථ තියෙන එකම වචන මෙන්ම, එකම අර්ථ තියෙන විවිධ වචනද ඇත. පාළි සිංහල ශබ්ද කෝෂවල ඡන්දස යන්නට මේ අර්ථ දෙකම ඇත.)

නාම සූත්‍රය - 72 පිටුව

නාමය සැම යටපත් කර සිටී. ඉන් වැඩියක් නැත. (නාමයට වැඩි වෙනත් විශේෂදෙයක් නැත) සියල්ලෝ නාමයෝ වසඟයට ගියාහුය.

චිත්ත සූත්‍රය - 72 පිටුව

සිතින් ලොව පමුණුවයි. සිතින් අදනා ලැබේ (සිතින් ඒ මේ අතට ඇද ගනියි). සියල්ලෝම සිතෙහි වසඟයට ගියාහුය.

තණ්හා සූත්‍රය - 72 පිටුව

ලොව තෘෂ්ණාවෙන් පමුණුවයි. ඉන් අදිනු ලැබේ (තණ්හාවෙන් ඇදගෙන යනු ලබයි). එහි වසඟයට ගියාහුය.

සංයෝජන සූත්‍රය - 72 පිටුව

රාගය බැම්මයි. පාද විතර්කයෝයි (කාම, ව්‍යාපාද, විහිංසා කියන විතර්ක ඇවිදින පාද වැනිය). කුමක් පහ කිරීමෙන් නිවන යැයි කියන්නේද? තණ්හාව පහ කිරීමෙන් නිවන යැයි කියනු ලැබේ.

බන්ධන සූත්‍රය - 74 පිටුව

ඉහත සූත්‍රයේ මෙනි. කුමක් පහ කිරීමෙන් සියලු බැඳුම් සිඳේද? තණ්හාව පහ කිරීමෙන් සියලු බැඳුම් සිඳේ.

අබ්භාහත සූත්‍රය - 74 පිටුව

ලොව මරහු (මරණය) ලුහු බඳී. ජරාව පිරිවරයි (ජරාව තමයි පිරිවර කරගෙන, වට කරගෙන ඉන්නෙ). තෘෂ්ණා හුලෙන් බැස ගනී. ඉච්ඡාව හැම කල්හි දුම් දමයි.

උඩ්ඩිත සූත්‍රය - 74 පිටුව

ලොව තෘෂ්ණාවෙන් නැගේ. ජරාව පිරිවරය. මරහු වසඟ ලදී. දුකෙහි පිහිටියේය.

පිහිත සූත්‍රය - 74 පිටුව

ලොව මරහු වසන ලදී. (මාරයා විසින් වහගෙන) දුකෙහි පිහිටියේය. තෘෂ්ණාවේ එල්බේ. ජරායෙන් පිරිවරන ලදී.

ඉච්ඡා සූත්‍රය - 76 පිටුව

ලොව ඉච්ඡායෙන් බැඳේ. ඉච්ඡා දුරලීමෙන් මිදේ. ඉච්ඡා ප්‍රහාණයෙන් සියලු බැඳීම් සිඳේ.

ලෝක සූත්‍රය - 76 පිටුව

ෂඩායතන හට ගත් කල්හි ලොව හට ගත්තේය. ෂඩායතනයෙහි සන්ථවය (එක්ව වාසය) කෙරේ. ෂඩායතන නිසා එහිම පෙළේ.

ඣත්වා සූත්‍රය - 76 පිටුව

විස වූ මුල ඇති මිහිරි වූ අග ඇති ක්‍රෝධ නැසීම ආර්යෝ පසසත් (එනම් මුල විස ඇත. අග මිහිරියි. මෙය ක්‍රෝධයේ ස්වභාවයට උපමාවකි). ක්‍රෝධ නසා ශෝක නොකෙරේ.

රථ සූත්‍රය - 78 පිටුව

ධජය රියටත්, දුම ගින්නටත්, රජ රටටත්, සැමියා ස්ත්‍රියටත් සලකුණුයි. රථයක ධජයක් එල්ලූ විට එය අභවල් කාරණයටයි කියා ඉන් යමක් පෙන්වයි. උදා : සුදු ධජයක් නම් මරණයක් / ශෝකයක්, සාමයක්. ගින්න තේරුම් ගන්නේ දුමෙනි. රජා තමයි රටේ සලකුණ. ස්ත්‍රියට ප්‍රධාන වන්නේ සැමියායි.

වුට්ඨි සූත්‍රය - 78 පිටුව

නැගීමෙන් විද්‍යාවද, බැසීමෙන් අවිද්‍යාවද, පා ගමනින් සංඝයාද, කතාවෙන් බුදු රජද ශ්‍රේෂ්ඨයි.

භීත සූත්‍රය - 80 පිටුව

පරලොවට බිය නොවන කරුණු පෙන්වයි. වචනයද, හිතද මනාකොට පිහිටුවා කයෙන් පව් නොකරන, බොහෝ ආහාරපාන ඇති, ගිහිව වසන, ශ්‍රද්ධාවත් මුදු ගතිත් ඇති, බෙදා හදාගෙන වැළඳීම... ආදී කරුණුයි.

ඉස්සර සූත්‍රය - 80 පිටුව

ලොව වශය අධිපති බවයි (ලෝක සත්වයා ලෝකයට වසඟ වීම අග්‍ර කරගෙන ඇත). ලෝකයාට භාණ්ඩ අතරින් ස්ත්‍රිය උතුමය. මළ බැඳි සැත (මළකඩ කෑ ආයුධය) ක්‍රෝධයයි. සොරු උවදුරයි (සොරු ලොව විනාසකාරීය). යළි යළි එන සඟ උතුමය.

### කාම සූත්‍රය - 82 පිටුව

වැඩ කැමති සත්ව තෙමේ කුමක් නොදෙන්නේද? කුමක් නොකරන්නේද? තමා නොදෙන්නේය, තමා නොහරනේය. හොඳ වචන මුදයි. නරක වචන නොමුදයි.

### පාථෙය්‍ය සූත්‍රය - 82 පිටුව

තෘෂ්ණාවේ ස්වභාවය විශේෂයෙන් පෙන්වා ඇත. මළ පුඩුවට බැඳුන ලිහිණියක සේ බොහෝ සත්වයෝ ඉච්ඡාවෙන් බැඳුනෝය.

### පජ්ජෝත සූත්‍රය - 82 පිටුව

නුවණ, සිහිය, ගෙරීහු ආදියට උපමා ඇත. ප්‍රඥාව ලෝකයේ පහනයි. සිහිය ලොව නොනිදා සිටින්නායි. කර්මාන්ත ආදියට සහය වන්නේ ගවයෝයි. සී සෑම ජීවිකා වෘත්තියයි. වැස්ස, මවක් පුතෙකු රක්නා සේ අලසයාත්, අනලසයාත් රකියි. පොළව ඇසුරු කළා වූ යම් සත්වයෝ ඇත්ද ඔවුන් වැස්ස නිසා ජීවත් වේ.

### අරණ සූත්‍රය - 84 පිටුව

ශ්‍රමණයින්ගේ යහපත් ස්වභාවය විස්තර කර ඇත. කෙළෙසුන් නැත්තේය. ආර්ය මාර්ගය තුල වාසය කරයි. තණ්හාව පිරිසිඳ දකියි. හැම කල්හිම නිදහස් බවින් යුක්තයි. දෙමව්පියන් පවා වන්දනා කරයි. ජාතියෙන් පහත් වුනත් ශ්‍රමණ භාවයට පත් වූ විට රජවරුද නමස්කාර කරයි.

### දහර සූත්‍රය - 130 පිටුව

ෂඩ් සාස්තෘන් නිරුත්තර සම්මා සම්බෝධිය අවබෝධ කළ බවට ප්‍රතිඥා නොදෙන බවත්, භවත් ගෞතමයන් වහන්සේ වයසින් මුහුකුරා නොගොස්ම එසේ ඇති බව ප්‍රකාශ කරන බවත් කොසොල් රජ කී විට, **ගින්දර - සර්පයා - රජ - භික්‍ෂුව, ළදරු යයි (ලඝු කොට) නොසිතන ලෙසත්** දේශනා කර ඇත.

### පුරිස සූත්‍රය - 132 පිටුව

මෙය කොසොල් රජුට දෙසීය. ලෝභය, ද්වේශය, මෝහය පුරුෂයාට දුක් ඇති කරයි. දුක් මුල් වේ (ලෝභ, ද්වේශ, මෝහ දුකේ මූලයයි). සිය ඵලය උණ, බට ආදී ගහේ විනාසයට හේතු වේ (එනම්, උණ ගහ, බට ගහ පීදුනු පසු අවසානයි. නැවත ඵල හට ගැනීමක් නෑ).

### රාජ සූත්‍රය - 134 පිටුව

උපන්නහුට ජරා, මරණ හැර අනිකක් නැත.

### පිය සූත්‍රය - 134 පිටුව

තමා තමන්ට ප්‍රිය වේ. නමුත් දුසිරිත් කරන ඔහු ක්‍රියා කරන්නේ තමාට අප්‍රියයෙක් ලෙසිනි. ප්‍රිය බව දන්නේ නම් ඔහු දුසිරිත් නොකර සුචරිතයේ යෙදෙනු ඇත. පින් කරන්නේ පරලොව ඔහුට පිහිට වෙයි.

### අත්තරක්ඛිත සූත්‍රය - 136 පිටුව

**යමෙක් සිව්රඟ සෙනග වටකර රක්කත් තිදොරින් දුසිරිත් කෙරේ නම් තමා නොරක්කා වේ. තිදොරින් සුචරිත කෙරේ නම්, සිව්රඟ සෙනග නොරක්කත් තමා රක්කා වේ. විස්තර ඇත.**

### අප්පකා සූත්‍රය - 138 පිටුව

බොහෝ අය ලෞකික සම්පත් ලැබෙන විට දූෂ්‍ය වේ. එසේ නොවන්නේ ඉතා සුළු පිරිසකි. දූෂ්‍යතාවය තමාටම මහත් අවැඩ කරයි.

### අත්ථකරණ සූත්‍රය - 140 පිටුව

**මහා භව භෝග සම්පත් ඇති අයද කාමයන් මුල් කරගෙන මුසා බෙනෙති. කෙමනට අසුවන මසුන් මෙනි.**

### මල්ලිකා සූත්‍රය - 140 පිටුව

තමන්ට වඩා ප්‍රියයෙක් තවත් නැත. විස්තර ඇත.

### බන්ධන සූත්‍රය - 144 පිටුව

**යදමින්, දැවයෙන්, ලණු ආදියෙන් බඳින බැඳුම් ඉතා සුළුය. මිනි කොඬොල් (මැණික් ඇල්ලූ ආභරණ), අඹු දරු කෙරෙහි බන්ධනය ඉතා ප්‍රබලය.**

### සත්ත ජටිල සූත්‍රය - 146 පිටුව

ජටිලයන්, ඒක සාටක බමුණන්, නිගණ්ඨයන්, පරිබ්‍රාජකයන්, 7 දෙනා බැගින් මග යනු දුටු කෙසොල් රජ තම නම කියමින් ඔවුන්ට ආචාර කළේය. ඔවුන් සිල්වතුන්, ගුණවතුන්, රහතුන් යැයි බුදු රජුන්ට කී විට, **රන් රිදී, අඹු දරු, මල් ගඳ විලවුන්, යාන වාහන ආදී පරිහරණය කරන ගිහි අයට රහතුන් හැඳිනිය නොහැකි බව** දෙසූ විට, ඒ ගියේ චර පුරුෂයන් යැයි කියා බුදු රජුන්ට ප්‍රසංසා කර ඇත.

### පංචරාජ සූත්‍රය - 148 පිටුව

කොසොල් රජ ඇතුළු රජවරු පස් දෙනෙක්ගෙන්, පංචකාමයන්ගෙන් කුමක් අග්‍ර දැයි විමසූ විට, එක් එක් කෙනා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ යැයි කී විට, බුදු පියාණන් වහන්සේගෙන් ඇසූ විට, **තම තමන්ට මනාප දේ තම තමන්ට අග්‍ර බව දෙසීය.**

### දෝන පාක සූත්‍රය - 152 පිටුව

තිඹක් සහලේ බත (සහල් ද්‍රෝණයක් හෙවත් නැළි 4 ක්) අනුභව කර වෙහෙස දරමින් අපහසුවෙන් සිටි කොසොල් රජ දුටු බුදු රජුන්, පමණ දැන වැළඳීමේ ගුණ කියන ගාථාවක් දේශනා කළේය. එමග අනුගමනය කළ රජතුමා, පසුව සහල් නැලියක බත අනුභව කර සැහැල්ලු කය ඇති කරගෙන බුදු රජුන්ට පැසසීය.

### පඨම සංගාම සූත්‍රය - 154 පිටුව

කොසොල් රජ සහ අජාසත් රජ අතර යුද්ධයකින් කොසොල් රජ පැරදුනි. අජාසත් රජ දිනීය. භික්‍ෂුවක් මේ ගැන බුදු රජුන්ට කීය. කොසොල් රජ දැහැමිය. අජාසත් පවිටුය. **දිනුවේ සතුරන් ලබයි. පැරදුනේ දුක් වෙයි. දිනුම් පැරදුම් හැර සංසිඳුනේ සුව ලබයි.** බුදු රජ දෙසීය.

### දුතිය සංග්‍රාම සූත්‍රය - 156 පිටුව

කොසොල් රජ සහ අජාසත් රජ අතර යුද්ධයකින් කොසොල් රජ දිනීය. අජාසත් රජ පැරදුනි. සියලු යුධ පිරිස් අයිති කර ගත් කොසොල් රජ තම බෑනා වන අජාසත් රජුට අභය දානය දී යැවීය. මේ විස්තරය ඇසූ බුදු රජුන්, **නසන්නා නසන්නෙකු ලබයි, දිනන්නා දිනන්නෙකු ලබයි, ආක්‍රෝෂ කරන්නා ආක්‍රෝෂ කරන්නෙකු ලබයි, කිපෙන්නා කිපෙන්නෙකු ලබයි, කර්මය මිහි කිරීමෙන් (මුහුකුරා යෑමෙන් හෙවත් මේරීමෙන්) නැසූ පුද්ගල නැසෙනු** ලැබේ යැයි දේශනා කළේය.

### ධීතු සූත්‍රය - 158 පිටුව

කොසොල් රජ බුදුන් වහන්සේ ළඟ සිටි විටෙක, දූතයෙක් මල්ලිකා දේවිය දුවෙකු වැදූ බව කී විට රජුගේ මුහුණ ඇකිළුනි. ගැහැණු කෙනෙක් නිසාද වන සේවය පැවසූ විට රජ සතුටු විය.

### අප්පමාද සූත්‍රය - 160 පිටුව

අප්‍රමාදය නම් වූ එකම දහම මෙලොව පරලොව සියලු අභිවෘද්ධිය ලබා දේ. ආයුස, නිරෝගී බව, ශරීර වර්ණය, උසස් කුල, අන්‍යෝන්‍ය සිත් අලවන දෑ පතන්නහු විසින් නොපමාව පුණ්‍ය ක්‍රියාවේ යෙදීම නුවණැත්තෝ පසසත්.

### කල්‍යාණමිත්‍ර සූත්‍රය - 160 පිටුව

**බුදුන්ගේ ධර්මය කළණ ගුණ ඇති අයටය. පවිටන්ට නොවේ.** කොසොල් රජුගේ ප්‍රශ්නයක් අනුමත කළ අවස්ථාවකි. මීට පෙර අනඳ හිමි, සසුනින් අඩක්ම කළණ මිතුරන් නිසා පවතී යැයි කී විට, සම්පූර්ණ සසුනම කළණ මිතුරන්

# නොපළ වූ ගුණ කඳ

## බුදුන් වහන්සේට එරෙහිව අන්‍යාගමිකයෙක් මතු කළ අභූත චෝදනාවක් බිඳ දැමූ හැටි...

**XXII**


වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරත්නාලංකාරය - 93**

අද වෙනකොට ලෝක සම්මත සමහර බෞද්ධයො පවා බුදු දහමේ එන ඇතැම් කරුණු සම්බන්ධයෙන් භෞතිකවාදී තර්කවාද මතු කරල ඒවා පිළිනොගන්නා තත්වයට පත්වෙලා තියෙනවා. ඒ වගේ අවස්ථාවක අන්‍යාගමිකයො ගැන කවර කතාද? ඉඳල හිටල බුදු දහමට ගරු කරන, බුදු දහම පිළිගන්නා බුද්ධිවන්ත අය අන්‍යාගමිකයො අතරත් හිටියත් බහුතරයක් එහෙම නෑ. හැබැයි ඒකට ඒ අයට දොස් කියල වැඩකුත් නෑ. මොකද කාලයක් යනකොට නිර්මල බුදු දහමේ වචනවලට දෙන අර්ථ විපරීතයන් නිසා, ඒවා නිවැරදි කරල හරි අවබෝධයක් ලබා ගන්න පුළුවන් විදිහට ධර්මය දේශනා කරන, යම් කිසි අධ්‍යාත්මික ශක්තියක් තියෙන දේශකයාණන් වහන්සේලා හිඟ වෙනකොට, ඒ අයගෙ සමහර භෞතිකවාදී තර්කවලට උත්තර නැතිව යනවා. ඇත්තටම උත්තර නැතිව නෙවෙයි. මේ බුදු දහමේ උත්තර දෙන්න බැරි ප්‍රශ්නයක් නෑ. නමුත් ඒ සඳහා දහම් අවබෝධයක් වගේම සිව්පිළිසිඹියාපත් ඥාන සහිත එක්තරා මට්ටමක දේශනා ශක්තියකුත් තිබිය යුතුයි. ඒ සඳහා කාලයට ගැලපෙන විවිධ උදාහරණ උපමා සංසන්දනය කරල, අනුකම්පාවෙන් කරුණාවෙන් කරුණු පැහැදිලි කරල දෙන යම් කිසි අධ්‍යාත්මික ශක්තියක්, දහම් අවබෝධයක් තියෙන උත්තමයන් වහන්සේලා පහළ විය යුතුයි.

ඉතින් ඒ වගේ උත්තමයන් වහන්සේලා හිඟ වෙච්ච කාලයක තමයි මේ යටගිය දහම් කරුණු නැණ නුවණට ගෝචර වෙන විදිහට නැවත මතු කරල පෙන්වන වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ ලෝකයට පහළ වුනේ. උන්වහන්සේ විසින් මතු කරල පෙන්වපු දුර්ලභ දහම් කාරණා වගේම, ලේසියෙන් කෙනෙකුට බිඳින්න බැරි භෞතිකවාදී මතවාද බිඳ හැරපු හැටි මේ සඟරාවෙ මීට පෙරත් ඕනෑ තරම් පළ කරල තියෙනවා. විශේෂයෙන් මේ වගේ කාලවකවානුවක මේ විදිහෙ දුර්ලභ අත්දැකීම් හෙළිදරව් කිරීම ලෝකයාට බොහොම යහපතක් වෙනවා. ඒක බෞද්ධයින්ට විතරක් නෙවෙයි, අන්‍යාගමික පින්වතුන්ටත් බොහොම වැදගත්. මොකද බුදු දහම සම්බන්ධයෙන් වැරදි වටහා ගැනීම් ඇති කරගෙන තියෙන, ඒත් හේතු වාසනා තියෙන අන්‍යාගමික පින්වතුනුත් ඔය අතර ඕන තරම් ඉන්න පුළුවන්. හේතු වාසනා තිබුනත්, හරි දහම විද්‍යාමාන

---

නිසා පවතී යැයි බුදු පියාණන් වහන්සේ දෙසා ඇත. විස්තර මෙහි ඇත.

<u>පඨම අපුත්තක සූත්‍රය - 164 පිටුව</u>

එක් සිටුවරයෙක් කළුරිය කළේය. ඔහුට දරුවන්ද නැත. ධන පරිභෝග නොකළ කෙනෙකි. වස්තුව රාජ සන්තක විය. මසුරු අසත්පුරුෂයාගේ පිරිහීමක හැටි බුදු පියාණන් වහන්සේ දේශනා කර ඇත.

<u>දුතිය අපුත්තක සූත්‍රය - 168 පිටුව</u>

**සැවැත් නුවර මහ සිටුවරයෙක් කළුරිය කළේය. අපුත්තක වූ ඔහුගේ වස්තුව රාජ සන්තක විය. හිඟන්නෙක් මෙන් සිටුතුමා ජීවත් වී ඇත. ඊට හේතු වූ පෙර කළ පාපයද අපුත්තක බවට හේතු වූ පාපයද දේශනා කර ඇත.**

<u>පුග්ගල සූත්‍රය - 170 පිටුව</u>

සතර පුද්ගල විග්‍රහය ඇත. තමෝ තම පරායනෝ **(අඳුරෙන් අඳුර කරා යන්නෝ)**, තමෝ ජෝති පරායනෝ **(අඳුරෙන් ආලෝකය කරා යන්නෝ)**, ජෝති තම පරායනෝ **(ආලෝකයෙන් අඳුර කරා යන්නෝ)**, ජෝති ජෝති පරායනෝ **(ආලෝකයෙන් ආලෝකය කරා යන්නෝ)**... ආදී වශයෙනි.

<u>අය්‍යකා සූත්‍රය - 176 පිටුව</u>

කොසොල් රජ තම මිත්තණිය මියගිය බව බුදු රජුන්ට පවසා, තමන්ට මිත්තණිය මරණයෙන් බේරා ගන්න කළ හැක්කක් වී නම් ඒ සියල්ල කර බේරා ගන්නා බවත් කී විට, උපන් සතට මරණය නියමයයි යන බුද්ධ දේශනාව සිහි කර දී, කළ පින් පරලොව යන සතට පිහිට වේ යැයි බුදු රජු දෙසීය.

<u>ලෝක සූත්‍රය - 178 පිටුව</u>

අහිත පිණිස, දුක් අපහසු පිණිස උපදනා ලෝක ධර්ම තුන නම් ලෝභ, ද්වේශ, මෝහය.

<u>පබ්බතූපම සූත්‍රය - 184 පිටුව</u>

සතර දෙසින් පෙරළී එන ගල් පර්වත 4 ක් මෙන් ජීවිතයට ජරා, මරණ පෙරළෙන්නේය.

<u>තපෝකම්ම සූත්‍රය - 188 පිටුව</u>

බුදුන් වහන්සේ අත්ථකිලමථානු යෝගයෙන් මිදී නිවන් සුව ලැබූ අයුරු සිහි කරන විට, මාරයා ඇවිත් අපහාස කළ විටක සීල, සමාධි, ප්‍රඥා යන කරුණු මගින් නිවන් සුව ලැබෙන බව කී විට මාර තෙමේ සංවේගයෙන් අතුරුදන් විය.

*පූජ්‍යපාද වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

නොවීම, දේශනා ශක්තියක් තියෙන උත්තමයෙක් කලට වෙලාවට මුණ නොගැසීම... ආදී බාහිර සාධක නිසා ඒ වගේ අවස්ථා ගිලිහිලා යන්න පුළුවන්.

ඒ නිසා අන්න ඒ වගේ පින්වතුන්ටත් ඒ වැරදි දෘෂ්ටි බිඳගෙන චිත්ත ප්‍රසාද මාත්‍රයක් හරි ඇති කරගත්තොත්, සසරෙ මතු කවදාහරි නිවන් දකින්න ඒ කාරණය මහත් උපනිශ්‍ර සම්පත්තියක් වෙනවා. මොකද සම්බුද්ධ සාසනය කෙරෙහි චිත්ත ප්‍රසාද මාත්‍රයක් හරි ඇති කරගන්නව කියන්නෙ සුළුපටු කාරණයක් නෙවෙයි. ඒක අනන්ත අපරිමාණ ලෝක සත්වයින්ගෙන් කෙනෙකුට බොහොම දුර්ලභව ලැබෙන අවස්ථාවක්. අන්න ඒ නිසා මෙවරත් හෙළිදරව් කරන්නෙ, වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ඒ වගේ භෞතිකවාදී තර්කවාද ධර්මානුකූලව බිඳ හැරපු ඉතා සිත් ගන්නා සුළු අත්දැකීම් කිහිපයක්. මේ තමයි උන්වහන්සේගේ එක අත්දැකීමක්.

මේ සිද්ධිය වුනේ මම ගිහි වතක ඉඳගෙන සාසනික කටයුතු කරන කාලයේ. දවසක් එක්තරා අන්‍යාගමික මනුස්සයෙක් මාව මුණගැහෙන්න ඇවිත් කියනවා, ඔයගොල්ලන්ගෙ ඔය කියන බුදු හාමුදුරුවො නිසා මිනිස්සුන්ට පව් සිද්ධ කරගන්න වුනානෙ කියල. මම ඇහුවා මොකක් නිසාද කියල. එතකොට ඔහු මෙහෙම කතාවක් කියනවා. “එයානෙ කියල තියෙන්නෙ පව් කරපුවම අපායෙ යනව කියල. ඒ නිසානෙ ඔය ප්‍රශ්නෙ වෙලා තියෙන්නෙ. එහෙම දෙයක් නොකිව්ව නම් මිනිස්සු ඔය කතාව දන්නෙ නැනෙ, සැනසිල්ලෙ ඕන දෙයක් කරගන්නවනෙ! දැන් මහ කරදරයක්නෙ වෙලා තියෙන්නෙ නැති ප්‍රශ්නයක් දාල! මොන අපරාධයක්ද කළේ?” දැන් මනුස්සය මගෙන් ඔය විදිහට අහනවා.

දැන් කොහොමද මේ මනුස්සයව යථාර්ථයට ගන්නෙ? මම ඔහුගෙන් ඇහුවා මෙන්න මෙහෙම දෙයක්. දැන් ඔබේ ඇගේ කුෂ්ටයක් තියෙනව කියල හිතන්න. ඔබ දන්නෙත් නෑ මොකක්ද මේ කුෂ්ටය හැදෙන්න හේතුව කියල. නමුත් යම් කිසි වෙද මහත්තයෙක් පරීක්ෂණයක් කරල කියනවා, ඔයා මේ හැමදාම අඹ කනවා, තක්කාලි කනවා, අච්චාරු කනවා, ඒ නිසා ඔය රක්ත උෂ්ණය වැඩිවෙලා තමයි කුෂ්ට එන්නෙ, ඒ නිසා ඔය වගේ සැර ජාති කන්න එපා, රක්ත උෂ්ණයට හේතු වෙන ආහාර ගන්න එපා, එතකොට සනීප වෙයි කියල.

දැන් වෙද මහත්තය මේ විදිහට කරුණු පැහැදිලි කරල කිව්වම, හරි වැඩේනෙ වෙද මහත්තය කරපු වැඩේ නිසා දැන් මට අඹ කන්නත් නෑ, තක්කාලි කන්නත් නෑ, එයා කිව්ව නිසානෙ මේ කුෂ්ටය එන්නෙ කියල කිව්වොත්, ඒ කතාව හරිද? ඉස්සෙල්ල කුෂ්ටය එනවා. දැන් ඔබට වෙලා තියෙන්නෙ කුෂ්ටය එන හේතුව දන්නෙ නැති එකයි. ඔබ අඹ කෑවට කමක් නෑ, තක්කාලි, අච්චාරු කෑවට කමක් නෑ. එහෙම ප්‍රශ්නයක් නෑ. දන්නෙ නැතිව කකා හිටියා. හැබැයි කුෂ්ටයක් එනවා. දැන් ඉතින් කහ කහ ඉන්නවා.

දන්න කියන වෙද මහත්තයෙක් කියනවා, මේ කුෂ්ටය එන්නෙ රක්ත උෂ්ණය නිසා, මෙන්න මේ ජාති කන්න එපා, කෑවමයි ඕක එන්නෙ කියල. ඉතින් ඕක අහගත්තට පස්සෙ ලෙඩා කිව්වොත් එහෙම, වෙද මහත්තය හරි අපරාධයක්නෙ කළේ, තක්කාලි අච්චාරු කන්න එපා කිව්වා, කෑවොත් කුෂ්ට එනව කිව්වා, දැන් මට තක්කාලි කන්නත් විදිහක් නෑ හරි අසහනයක්නෙ කියල, දැන් වෙද මහත්තය කිව්ව නිසාද තක්කාලි කෑවම කුෂ්ට එන්නෙ, නැත්නම් කුෂ්ට එන බව දැනගෙන වෙද මහත්තය කිව්වද ඒ ජාති කන්න එපා කියල? ඔබට වැටහෙන්නෙ මොකක්ද මේ ගැන? වැටහෙන විදිහට පිළිතුරක් දෙන්න.

රක්ත උෂ්ණෙ තියෙනවා. උෂ්ණ කෑම ගත්තම කුෂ්ට එනව නම්, ඔය කුෂ්ට එන්නෙ මෙහෙමයි කියල වෙද මහත්තයෙක් හරි කවුරුහරි දැනුවත් කෙනෙක් කියල දුන්නට පස්සෙ, වෙද මහත්තය කියල දුන්න නිසාද, එහෙම නැත්නම් වෙද මහත්තය කිව්වට පස්සෙද, තක්කාලි කෑවට පස්සෙද කුෂ්ටෙ ආවෙ? එහෙම නැත්නම් ඉස්සෙල්ල කුෂ්ටෙ ඇවිත් තිබුනද? වෙද මහත්තය කිව්වෙ ඔබට තිබ්බ්ච ලෙඩේට මුලක්ද? ඔබට වැටහෙන්නෙ කොහොමද? ඉතින් වෙද මහත්තය කියල දුන්නෙ ලෙඩේ හැදෙන හැටිනෙ! ඒක හොඳද නරකද? දැන් ඒක කියල දුන්න නිසා වෙද මහත්තයට දොස් කියනවද? වෙද මහත්තය කියල දුන්නෙ හොඳක්නෙ!

මම කිව්වා, අපේ බුදුහාමුදුරුවොත් වෙද මහත්තයෙක් කියල හිතාගන්නකො කියල. ඔබ පව් කරල ඉවර වෙලා දිව්‍ය ලෝකෙ යනව කියල හිතුවත් ඔබ යන්නෙ අපායටම තමයි. බුදු රජාණන් වහන්සේ කිව්වත් නොකිව්වත් එච්චරයි වෙන්නෙ. නමුත් ඔබ හිතාගෙන ඉන්න එක දකින්නෙ වෙන ක්‍රමයකට. ඔබ හිතාගෙන ඉන්නෙ, අර වෙද මහත්තය කිව්වට පස්සෙ තක්කාලි කන්න එපා කුෂ්ට එනව කියල, වෙද මහත්තය තමයි වැඩේ වැරැද්දුවෙ කියල. මට තක්කාලි කන්න විදිහක් නෑ, කුෂ්ට එනව කිව්වෙ වෙද මහත්තයනෙ කියන අන්න ඒ වගේ කතාවක් තමයි ඔබ හිතාගෙන ඉන්නෙ. නමුත් යථාර්ථය මොකක්ද, හැඟවිලා තිබ්බ්ච ඇත්තක් මතු කරල දුන්නා. දැන් ඉතින් බේරෙන කෙනාට බේරෙන්න පුළුවන්. බේරෙන්න බැරි කෙනාට, එදා බුදු රජාණන් වහන්සේ දේශනා කරන්න ඉස්සෙල්ල පව් කරපු එකාට වෙච්ච දේම තමයි දැන් පව් කරන එකාට වෙන්නෙත්. නොදන්නකම නිසා මොකද වෙන්නෙ, බේරෙන්න තියෙන කෙනාටත් බේරෙන්න ක්‍රමයක් නැතිව යනවා. දැන් කියල දුන්න නිසා ඕන නම් ඕන කෙනෙකුට බේරෙන්න පුළුවන්. ඔබට ඕන නම් පව් කරගෙන අපායෙ යන්න. එතකොට කොහොමටත් ඔබ අපායෙ යනවා. බුදු හාමුදුරුවො කිව්වත් එකයි, නොකිව්වත් එකයි. ඒක ඔබ තේරුම් ගන්න.

මම ඔහුට මේ විදිහට විස්තර කරල දුන්නා. දැන් මේ මනුස්සයා ආවෙ මාත් එක්ක අමු තර්කයක් දාල ඔවුන්ගෙ ක්‍රමයට බෞද්ධයො අබෞද්ධ කරන වැඩපිළිවෙලට එන්න. එහෙම අදහසකින් එතැනට ආව මිසක් ඔහු මම කවුද කියල දැනගෙන හිටියෙ නෑ. ඒ පාර ඔලුව කහල යන්න ගියා.

දැන් ඉතින් ඔය වගේ ප්‍රශ්න දානකොට සාමාන්‍ය මිනිස්සු මොනවද හිතන්නෙ? ඔය වගේ ගොන් මොට්ට තර්කවලින් ඕකත් පිළිගන්න එක්තරා කොටසක් මේ සමාජයේ ඉන්නවා. එහෙම අයත් නැතුව නෙවෙයි. හැබැයි එතකොට අපි හිතා ගත්තොත් එහෙම, අන්න බෞද්ධයෙක් අබෞද්ධ කළා කියල, ඒක ඊට වඩා මෝඩකමක්. ඒක තමයි මහ මෝඩකම. මොකද ඒකා මුලදීත් අබෞද්ධමයි. එතැන බෞද්ධයෙක් ඉඳල නෑ. ඒ පුද්ගලයා කොහොමත් ඒ කිව්ව වචන දරාගන්න ජාතියේ කෙනෙක් නම් කොහොමත් අබෞද්ධයෙක්. මුල ඉඳන්ම ඉඳල තියෙන්නෙ අබෞද්ධයෙක් විදිහට. මොකද **බෞද්ධයෙක් අබෞද්ධ**



**කරනව කිව්වොත් ඒකට හේතු නෑ.** එතකොට කෙනෙක් බෞද්ධ වෙලා පසුව අබෞද්ධ වෙනව කිව්වොත් ඒකට හේතුව මොකක්ද? කාගෙ වරදින්ද? තේරුම් ගන්න පුළුවන් කෙනාට තේරුම් ගන්න කියල දෙන්නෙ නැති වරද නේද මේ තියෙන්නෙ? බෞද්ධ බවට පත් කරල ඉවර වෙලා පුළුවන් නම් අබෞද්ධ කරන්නකො! කොහොම කරන්නද?

ඒ නිසා බෞද්ධ කියන්නෙ මොකක්ද කියල ඉස්සෙල්ලම තේරුම් ගන්න ඕන. **මේ ලෝකෙ ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දැක්ක නම් අන්න ඒ බෞද්ධයෙක්. ඒ වගේ බෞද්ධයෙක් ඔය වගේ කතා කියල අබෞද්ධ වෙනවයි කියන්නෙ කවදාවත් වෙන්නෙ නැති දෙයක්.** මොකද ලෝකයේ ස්වභාවය තමන්ම අවබෝධ කරගෙන තියෙන්නෙ. ඒ තමයි නියම බෞද්ධකම. එහෙම නැතිව නමට විතරක් බෞද්ධ නම් ඔය ජාතියේ කතා කියල, විවිධ දේවල් දීල විවිධ පැතිවලට නම්මගන්න පුළුවන්. හැබැයි ඒ නියම බෞද්ධ නෙවෙයි.

---

ඒ වගේම තමයි අපේ ලෝක සම්මත බෞද්ධයො අතරත් මේ වගේ අමු තර්ක ඉදිරිපත් කරන සමහර උදවිය ඉන්නවා. ධාතූන් වහන්සේලා කියන්නෙ මොන බොරුද, නිකං ඇටකටු විතරයිනෙ... ඔය ආදී වශයෙන් තර්ක ඉදිරිපත් කරන අයත් ඉන්නවා. දැන් මේ කියන්න යන්නෙ වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට ඉදිරිපත් වෙච්ච තවත් ඒ වගේ තර්කවාදයකට උන්වහන්සේ දුන්න පිළිතුරක්.

දවසක් මාව මුණගැහෙන්න එක්තරා මහත්තයෙක් ආවා. ඉතින් ඒ මහත්තය කියනවා, ඔහු ළඟින් ආශ්‍රය කරපු නායක හාමුදුරුවො නමක් කියන කතාවක්. ඒ හාමුදුරුවො පඩික්කම පෙන්වල කියනවලු, මේ පඩික්කමේ තියෙන්නෙත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා භූත, ධාතූන් වහන්සේලාගෙ තියෙන්නෙත් ඔය හතරමයි, ඒ නිසා මේ පඩික්කමත් එකයි ධාතූන් වහන්සේලාත් එකයි වෙනසක් නෑ කියල. ඉතින් ඔන්න ඔය වගේ තර්කවාදයක් මතු කළාලු. දැන් ඉතින් භෞතිකවාදය තුල නම් මේ තර්කය හරි. නැණ නුවණක් නැති කෙනෙකුට පිටින් බැලුවම එහෙම තමයි පේන්නෙ.

දැන් ඉතින් ඒ මහත්තය මෙහෙම කිව්වම, ඒ කියන හාමුදුරුවො ළඟ නැති නිසා මම ඒ මහත්තයටම උදාහරණයක් අරගෙන ඒ කාරණය මේ විදිහට පැහැදිලි කරල දුන්නා. දැන් මහත්තයගෙ නෝනා ඉන්නවද? ඔව්. අම්මා ඉන්නවද? ඔව්. නෝනා හැදිල තියෙන්නෙත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා භූතවලින්. එතකොට අම්මා හැදිල තියෙන්නෙත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා භූතවලින්. ඒ අතින් දෙන්නම සමානයි, වෙනසක් නෑ. ඒත් දැන් මහත්තය නෝනත් එක්ක කරන වැඩ අම්මත් එක්ක කරනවද?

මම ඔය සරල ප්‍රශ්නය විතරයි ඇහුවෙ. එතැනින් එහාට කට උත්තර නැතිව ගියා. ඉතින් ඔය වගේ ප්‍රශ්නයක් වෙන කොහොම පහදන්නද? ඒ විදිහට කිව්වම ඕන කෙනෙකුට තේරෙනවනේ! ඒ නිසා මමත් ඉතින් අමතක නොවෙන්න ඒ ජාතියේම උදාහරණයක් ගත්තා.

---

මේ සම්බන්ධයෙන් තවත් අත්දැකීමක් තියෙන, වහරක අභයරතනාලංකාර තෙරුන් වහන්සේව බොහෝ කලක් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක්, වහරක හාමුදුරුවන්ගෙ අනතිමානීකම, ඉවසීම සහ දහම් අවබෝධය සම්බන්ධයෙන් තමන් වහන්සේගේ අත්දැකීමක් මේ විදිහට කියා සිටියා.

දවසක් අපිත් එක්ක එක්තරා භික්ෂූන් වහන්සේ නමක් වහරක හාමුදුරුවො මුණගැහෙන්න පළවෙනි වතාවට වහරක පන්සලට ගියා. හැබැයි උන්වහන්සේ අපේ ඉල්ලීමට ගියා මිසක් ඒ තරම් කැමැත්තකින් ගියා නෙවෙයි. මොකද මේ හාමුදුරුවො අවුරුදු 15 - 20 ක් විතර විවිධ ආරාමවලට ගිහින් විවිධ දේවල් හදාරල අමුතු ජාතියේ බණ කතා තමයි කියන්නෙ. ත්‍රිපිටකයේ සූත්‍ර අරගෙන ඒකෙ මෙහෙම තියෙන්නෙ කියල නිරුක්ති එහෙමත් කියනවා. ධර්ම දේශනාත් කරනවා. හැබැයි අවබෝධයෙන් බණ කියන්න ඕන කියනව මිසක් පොත් බලල කටපාඩම් කරල බණ කියන එක අනුමත කළෙත් නෑ. සම්මත ලෝකය තුල නම් ඒ බණට යම් කිසි වටිනාකමක් තියෙනවා. එහෙම වටිනාකමක් තිබිච්ච නිසා අපිටත් ඕන වුනා මේ හාමුදුරුවන්ව වහරක හාමුදුරුවො ළඟට එක්කගෙන යන්න. ඒ නිසා අපි කිව්වා, මෙන්න මෙහෙම බණ කියන තවත් විශේෂ හාමුදුරුවො නමක් ඉන්නවා, උන්වහන්සේත් බණ භාවනා කරනවා, විශේෂ ධර්ම සාකච්ඡාත් කරනව කියල. අපි එහෙම කියල එක්කගෙන ගියා මිසක් ඒ හාමුදුරුවො ඒ තරම් කැමැත්තකින් ගියා නෙවෙයි. මොකද, මට කාගෙන්වත් බණ අහන්න දෙයක් නෑ, ඔය හැම තැනකම වැරදි අඩුපාඩු තියෙන්නෙ, ඒ වගේ තැන්වලට ගියාට මට ගන්න දෙයක් නෑ කියන ඔය වගේ අදහසක තමයි ඒ හාමුදුරුවො හිටියෙ. හැබැයි ඉතින් සම්මත සමාජයේ යමක් කමක් දැනුම් තේරුම් තිබිච්ච හාමුදුරුවො නමක්.

උන්වහන්සේ වහරක හාමුදුරුවන්ගෙන් විවිධ ප්‍රශ්න ඇහුවා. හැබැයි ප්‍රශ්න අහල වහරක හාමුදුරුවන්ට උත්තර දෙන්න අවස්ථාව දුන්නෙ නෑ, උන්වහන්සේම ඒවට උත්තරත් කියනවා. එක ප්‍රශ්නයක් ඇහුවා, ලෝභ කියන්නෙ මොකක්ද කියල. වහරක



හාමුදුරුවො ඉතින් නිරුක්ති අරගෙන, ලෝ + අබ්බ - ලෝභ කියල කියන්න හදනකොටම, නෑ නෑ එහෙම නිරුක්ති කොහෙද තියෙන්න කියල, නිරුක්ති කියන්නෙ මේකයි කියල උන්වහන්සේ ඒක හැදිච්ච හැටි කියන්න ගත්තා. එතකොට වහරක හාමුදුරුවො, හා හා ඉතින් ඉතින් ස්වාමීන් වහන්ස... කියල පුංචි ළමයෙක් වගේ උන්වහන්සේගේ පැහැදිලි කිරීම අහගෙන හිටියා. කොහොම හරි මේ හාමුදුරුවො වහරක පන්සලේ ඉඳගෙනම වහරක හාමුදුරුවන්ට විනාඩි 45 ක් විතර බණ කිව්වා. වහරක හාමුදුරුවො දෙපාරක් විතර කතා කරන්න උත්සාහ කළත් ඒ දෙපාරෙම කතා කරන්න ඉඩ දුන්නෙ නෑ. ඒ නිසා ඉතින් නිහඬවම අහගෙන හිටියා.

මේ හාමුදුරුවො අන්තිමට ළඟ තිබිච්ච පඩික්කම පෙන්වල මේ විදිහෙ තවත් භෞතිකවාදී ප්‍රශ්නයක් ඉදිරිපත් කළා. මේ පඩික්කම හැදිල තියෙන්නෙ සතර මහා භූතයන්ගෙන්. එතකොට දන්ත ධාතූන් වහන්සේ හැදිල තියෙන්නෙත් සතර මහා භූතයන්ගෙන්. ඕවා ඔක්කොම මායාවල්. ඉතින් දන්ත ධාතූන් වහන්සේට වඳිනව නම් ඇයි පඩික්කමට වැන්දම මොකද වෙන්නෙ කියල ඔන්න ඔහොම ප්‍රශ්නයක් තමයි ඇහුවෙ. මේ ලෝකෙ තියෙන සියල්ල මායාවක්, එකක්වත් වැඩක් නෑ, මේ සියල්ල මනෝ ලෝකයක්... ඔන්න ඔය වගේ මුළු ලෝකයම මායාවක් කියන තැන ඉඳගෙන තමයි මේ හාමුදුරුවො දන්ත ධාතූන් වහන්සේ සම්බන්ධයෙනුත් අර විදිහෙ ප්‍රශ්නයක් නැගුවෙ. ඒත් වහරක හාමුදුරුවන්ට මුන්වහන්සේ කතා කරන්න ඉඩ දුන්නෙ නැති නිසා නිහඬවම අහගෙන හිටියා.

ඉතින් ඒ සාකච්ඡාව ඉවර වෙලා ඒ හාමුදුරුවො පහළ ධර්ම ශාලාව පැත්තට වැඩියවෙලාවෙ,මමයිතවත්හාමුදුරුවො නමකුයි වහරක හාමුදුරුවන්ගෙන් ඇහුවා කොහොමද අර එක්කගෙන ආපු හාමුදුරුවො කියල. හා හොඳයි හොඳයි ඉතින් උන්වහන්සේ කියන ටික හරිනෙ කියල කිව්වා. ඒත් අපි දන්නවා ඒක කොහොමටවත් එහෙම වෙන්නෙ නෑ කියල. අපිත් ඉතින් හා හා කියල ඇවිත් ඊට පස්සෙ දවසක වෙන උවමනාවකට වහරක පන්සලට ගියපු අවස්ථාවක මම වහරක හාමුදුරුවන්ගෙන් පුද්ගලිකව ඇහුවා, ස්වාමීන් වහන්ස එදා ආපු හාමුදුරුවො කොහොමද කියල. නෑ නෑ ඉතින් උන්වහන්සේ මේං මෙහෙම කිව්වනේ කියල උඩින් මත්තෙන් උත්තර දුන්න මිසක් හරියට කෙලින් උත්තරයක් දුන්නෙ නෑ. පස්සෙ මම කෙලින්ම උත්තරය දීලම ඇහුවා, ඒ හාමුදුරුවො විනාඩි 45 ක් විතර බණ කිව්වා, බැරි වෙලාහරි ඔබවහන්සේට බණ කියන්න අවස්ථාවක් දුන්න නම් මොකද කියන්නෙ කියල. ඒ පාර වහරක හාමුදුරුවො කියනවා, කෝ ඉතින් මට කතා කරන්න දුන්නයැ! ඒ නිසා ඉතින් මමත් සද්ද නැතිව උන්වහන්සේ කියන දේ අහගෙන හිටිය කියල. මම කිව්වා, එහෙම නෙවෙයි හාමුදුරුවනේ, ඔබවහන්සේට කතා කරන්න දුන්නෙ නැති නිසානෙ කතා කළේ නැත්තෙ, බැරි වෙලාවත් ඔබවහන්සේට විනාඩි 15 ක් වත් කතා කරන්න අවස්ථාව දුන්න නම් ඔබවහන්සේ මොකද කියන්නෙ කියල. මොකද මටත් ඕන වුනේ ඒ හාමුදුරුවන්ගෙ භෞතිකවාදී තර්කවලට වහරක හාමුදුරුවො දෙන උත්තර මොනවද කියල දැනගන්න.

ඒ පාර වහරක හාමුදුරුවො හිනාවෙලා, උන්වහන්සේ මෙහෙම කිව්වනේ කියල ආං... අර පඩික්කමේ කතාවත් කිව්වා. ඉතින් ඒ වෙලාවෙ අර අම්මගෙයි, නෝනගෙයි උදාහරණය දැම්ම නම් ඒ හාමුදුරුවො මොනවද ඇහුවා කියන්නෙ. හැබැයි ඒ වෙලාවෙ ඒ හාමුදුරුවො කියපු හැම දෙයක්ම වහරක හාමුදුරුවො නිශ්ශබ්දව අහගෙන හිටියා. නමුත් අපිත් පැත්තක ඉඳගෙන අහගෙන හිටපු නිසා අපි දන්නවා ඒක එහෙම වෙන්නෙ නෑ කියල. ඊට පස්සෙ වහරක හාමුදුරුවො ඒ හාමුදුරුවො මතු කරපු ප්‍රශ්න එකින් එක අරගෙන ඒවාට ධර්මානුකූල උත්තර දුන්නා. හැම වෙලාවෙම තර්ක කළාට හරියන්නෙ නෑ, තර්කය හැම වෙලාවෙම දිනන්නෙ නෑ, ඒක එහෙම ගැලපෙන්නෙ නෑ කිව්වා.

ඉතින් වහරක හාමුදුරුවො නිරුක්තිපත සූත්‍රයත් අරගෙන, නිරුක්ති පටිසම්භිදා ඥානය ගැනත් කියල දහමට අනුව සාධාරණව නිරුක්ති පෙන්වන හැටිත් කියල දුන්නා. කොහොම හරි ඒ හාමුදුරුවො කියපු ඒවා ගැලපෙන්නෙ නෑ කියල පුද්ගල විවේචනයක් නොකර ධර්මානුකූලව පෙන්වා දුන්නා. අන්තිමට අපි ඇහුවා, ඉතින් ස්වාමීන් වහන්ස, විනාඩි 15 ක් හරි අරගෙන මේ කියපු ටික ඒ හාමුදුරුවන්ට කිව්ව නම් වටින්නෙ නැත්ද, ඒක එහෙම වුනා නම් කොච්චර හොඳයිද කියල. ඒ පාර අපි කවුරුවත් බලාපොරොත්තු නොවෙච්ච උත්තරයක් තමයි වහරක හාමුදුරුවො උදාහරණ උපමා අරගෙන ඒකට දුන්නෙ.

මම බණ කියන්නෙ මගෙන් බණ අහන්න එන අයට. මට බණ කියන්න එන අයට මම කවදාවත් බණ කියන්නෙ නෑ, මම ඒ අයගෙ බණ අහනවා. මගෙන් බණ අහන්න එන අයට මම බණ කියල දෙනවා. එහෙම හැමෝටම බණ කියන එක ගැලපෙන්නෙ නෑ. තමන්ට බණ කියන්න ආපු කෙනෙක්ගෙන් බණ අහනව මිසක්, ඒ කෙනාට බණ කියන සිරිතක් නෑ. බණ අහන්න එන අයටයි බණ කියන්න ඕන. එහෙම නැතිව පිටිපස්සෙන් පන්නගෙන ගිහින් බණ කියන සිරිතක් බුද්ධ සාසනයේ නෑ. ඕනෑවට වඩා කියල කෙනෙක් බලෙන් ඇදගෙන එන්නත් එපා, ඒ අය නිවනට බාධා කරගන්නවා... මෙන්න මේ විදිහට වහරක හාමුදුරුවො සාක්ෂිත් එක්ක හරි අපූරු දහම් පැත්තක් පෙන්නුවා. හැබැයි ඒ කියපු ඒවා ඔක්කොම නම් මට මතක නෑ. මතක ටිකක් කෙටියෙන් තමයි මේ කිව්වෙ. එතකොට එතැන හිටපු තවත් හාමුදුරුවො නමකුයි මමයි කතා වුනා, ඉතින් අපේ ළඟට බණ කියන්න ආව නම් අපි බලෙන් හරි විනාඩි 5 ක් අරගෙන, ඔබවහන්සේ මෙච්චර වෙලා කතා කළා, මට විනාඩි 5 ක් හරි දෙන්න කියල බලෙන් හරි ඔය ටික කියනවා කියල. ඒත් බලන්නකො වහරක හාමුදුරුවො අච්චර දැනගෙනත් තමන්ගෙම පන්සලේ ඉඳගෙනත් ඒ ටික කිව්වෙ නැතිව සද්ද නැතිව අහගෙන හිටියනේ. අපිට නම් එහෙම ඉන්න බෑනෙ. අපේ තැනකට ඇවිත් ඔහොම කතා කළා නම්, අපි නම් බලෙන් හරි කියන්න යනවනෙ. ඉතින් වහරක හාමුදුරුවො එහෙම නෙවෙයිනෙ. මේ ආපු හාමුදුරුවන්ව බාහිර ලෝකයාට විශේෂ කෙනෙක් විදිහට පෙනුනට දහම් අවබෝධයෙන් නම් විශේෂ කෙනෙක් විදිහට අනුමත කළේ නෑ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**



කුරුඳු



කපු



දිමි පුහුල්



ගිරිතිල්ල

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 20

දුර්ලභව ලැබූ මනුස්ස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් අකාලයේ විනාස වෙන්න ඉඩ නොදී ආරක්ෂා කර ගැනීමේ අරමුණෙන්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් හඳුන්වා දෙනවා.

**කුරුඳු** - රට පුරා වාණිජමය වශයෙන් වගා කළත්, බඩවැටි, ළඳු කැලෑවල ස්වභාවිකව හැදුනත්, කුළුබඩුවක් විදිහට පාවිච්චි කළත්, බොහෝ දෙනෙක් නොදන්නා පැතිකඩක් තමයි මේ හෙළිදරව් කරන්නෙ. කුරුඳු අධික උෂ්ණාධික ශක්තියකින් යුක්ත වුනත්, ඕනෑම දෙයක් සමග ප්‍රතික්‍රියා කරල වෙනම ශක්තියක් ගොඩනගන ඖෂධයක්. කුරුඳු දළු, කොළ, ගෙඩි, මල්, නැටි, පොතු, දඬු, මුල් මේ සියල්ලම හෙළ වෙදකමේදී ඖෂධ විදිහට යොදා ගන්නවා.

අද වෙනකොට කුළු බඩුවක් විදිහට, ආහාර රසකාරකයක් විදිහට භාවිතා කළත්, ඊට අමතරව විවිධාකාරයෙන් සකස් කරපු කුරුඳු තේවලටත් දැන් වෙළඳපොලේ ලොකු ඉල්ලුමක් තියෙනවා. නමුත් මේ කුරුඳු ගහේ ඉවත දමන අමුද්‍රව්‍යවලින් මීට වඩා ප්‍රයෝජන රැසක් ගන්න පුළුවන්. ඒ මගින් ශරීරයේ ඇතිවන බොහොමයක් ලෙඩ රෝග සුව කරගන්න පුළුවන්.

කුරුඳු ආහාරවලට එකතු කළාම ආහාර අපත්‍ය වීම වළකිනවා. ආහාර ජීර්ණය පහසු කරනවා. ආහාර මාර්ගයේ කාරම්, අපද්‍රව්‍ය බැඳිල තියේ නම් ඒවා සුද්ධ කිරීමේ ගුණයෙන් යුක්තයි. ශරීරයේ දරා ගැනීමේ ශක්තිය තීව්‍ර කරනවා. සියලු ස්නායු උත්තේජනය කරන නිසා ශරීරය නිරන්තරයෙන් කායික මානසික වශයෙන් ප්‍රබෝධමත් කරනවා. **දත් මුල් දියවීම, මුඛ දුර්ගන්ධය, නිතර ඇතිවන පණු ගෙඩි... ආදී රෝගාබාධවලදි, කුරුඳු දර පුච්චා ගැනීමෙන් එන අඟුරු කුඩු කරල ලුණු කුඩු ටිකක් මිශ්‍ර කරල දත් මැදීමෙන් ඒ තත්වයන් වළක්වා ගන්න පුළුවන්.**

අපත්‍ය ආහාර ගත්තම ඇතිවන **බඩේ අමාරු සඳහා, කුරුඳු ගෙඩි හොඳින් වේළගෙන කුඩු කරල තියාගෙන, එයින් තේ හැන්දකට ඉඟුරු යුෂ තේ හැන්දක් එකතු කරල අනුපානයට මී පැණි එකතු කරල උපරිම තුන් වතාවක් පානය කිරීමෙන් ඒ තත්වය සුව වෙනවා. ඒ වගේම කුරුඳු මල් හොඳින් වේළගෙන කුඩු කරල තියාගෙන තේ වෙනුවට පානය කිරීමෙන් අධික තරබාරු ගතිය දුරු වෙනවා. ලේ ධාතුව පිරිසිදු වෙනවා. ලේ නහර තුල මේදය තැන්පත් වීම වළකනවා. අධි රුධිර පීඩනය සහ අව රුධිර පීඩනය සමනය කරනවා. ශරීරයේ ක්‍රියාකාරී නොවන කොටස්වල මේදය තැන්පත් වීම අවම කරනවා. ආම වාතය දුරු කරනවා. අධික ලෙස මේදය තැන්පත් වෙලා තියෙන ස්ථානවල, කුරුඳු කොළ කොටල වණ්ඩුවේ තම්බගෙන පොට්ටනි බැඳල සති 2 ක් පමණ තැවීමෙන් ඒ තත්වය දුරු කරගන්න පුළුවන්.**

**කුරුඳු දරත් ඉතා වටිනා ඖෂධයක්. කුරුඳු දර පිච්චීමෙන් එන දුම ඉරුවාරදය, හිස බර ගතිය, හිස් කබලේ සෙම තැන්පත් වීම නිසා ඇතිවන වේදනාව, අධික විඩාව, ඇස් ආශ්‍රිතව හට ගන්නා ආසාත්මිකතාවයන් දුරු කරනවා. බාගෙට වේළිච්ච කුරුඳු දර ටිකක් කබලකට දාල කපුරු පෙත්තක් දෙකක් එකතු කරල ගිනි තියල, බුබුළු දම දමා තෙතමනය සහිතව පිච්චෙන මට්ටමේදි නිවාගෙන, සාමාන්‍යයෙන් සෙම්ප්‍රතිශ්‍යාව හැදුනම හුමාලය අල්ලනව වගේ රෙද්දකින් වහගෙන ඒ එන දුම ඇල්ලීමෙන් ඉහත රෝගී තත්වයන් දුරු කරගන්න පුළුවන්.**

කුරුඳු දළු හීන් වෙන්න ලියාගෙන නානු ගතිය නැතිවෙන්න වැඩිපුර පොල් ටිකක් එකතු කරල, ළූණු, අමු මිරිස්, ලුණු, ගම්මිරිස්... ආදියත් අවශ්‍ය පමණට එකතු කරල සාමාන්‍ය පළා සම්බෝලයක් හෝ කලවම් මැල්ලුමක් විදිහටත්, පොල් ටිකක් වැඩිපුර එකතු කරල සාමාන්‍ය කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

ඒ වගේම ආහාරය සඳහා මිලදී ගන්නකොට, වෙළඳපොළේ කල් තබා ගැනීම සඳහා සල්ෆර් වගේ විවිධ රසායන ද්‍රව්‍ය යොදල සකස් කළ කුරුඳුත් තියෙන නිසා ඒ ගැනත් සැළකිලිමත් වීම වැදගත්.

**බතල දළු, කොළ, කරටි** - රටේ සියලු තැන්වල නිකං දඬු කැල්ලක් විසි කළත් කිසිම සාත්තු සප්පායමක් නැතිව ස්වභාවිකව වැවෙන හැදෙන දෙයක්. මෙතැනදි කතා කරන්නෙ, දැනට වෙළඳපොලෙත් මිලදී ගන්න තියෙන රතු බතල, සුදු බතල සහ ඇඟිලි බතල ගැන.

බතල කියන්නෙ ලෝකයේ මුලින්ම පහළ වෙච්ච ආහාර වර්ගයක්. බදාලතා කියන්නෙ ඒකෙ මුල්ම අවස්ථාව.

මල් පෝච්චියක වුනත් ඉතා පහසුවෙන් වස විසවලින් තොරව වගා කරගන්න පුළුවන් ඉතා ඉක්මනින් හැදෙන වැල් විශේෂයක්. වැල ව්‍යාප්ත වෙච්ච තරමට අල බහිනවා. ජලය හොඳින් තියේ නම් ඉක්මනින් ව්‍යාප්ත වෙනවා.

මේ වෙනකොට අල විතරක් ආහාරයට අරගෙන දඬු, කොළ, කරටි ඉවත දැම්මත් බතල දළු, කොළ, කරටි එකට ආහාරයට ගත්තම බතල අලවලින් ලැබෙන ශක්තියත් ඉබේම ශරීරයට ලැබෙනවා. වෙනත් කොළ වර්ගවලට වඩා සුවිශේෂීය ගුණ බතල කොළවල තියෙනවා. මොකද බතල කොළවලට ලෙඩ රෝග හැදීමත් ඉතා අඩුයි. නොසැලෙන තරම්. ජලය නැති වුනාම වැල මැරුනත් පොළව යට තියෙන අලය නිසා නැවත ජලය ලැබුනම හැදෙන්න පටන් ගන්නවා. ඒ නිසා ලේසියෙන් වඳ වෙන්නෙත් නෑ.

බතල දළු, කොළ, කරටි තුන් දොස් සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. **අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයට මේ තුන් වර්ගය කොටල සාමාන්‍ය කැඳක් ආකාරයට සකස් කරගෙන හිස්බඩ පානය කිරීමෙන් ඒ තත්වය සමනය කරගන්න පුළුවන්. වත්ත පිටියට කරල තියෙන අණවින කොඩිවින ආදිය කපන්නත්, භූමි පාළු සිදු කළ පසු භූමියේ තියෙන විස කළු කිරණ ඉවත් කරන්නත් බතල දඬු වත්ත පිටියේ හිටවනවා.** එතකොට ඒ විස කළු කිරණ දහවල් කාලයේ බතලවලට උරා ගන්නවා. සමහර අවස්ථාවල බතල තැම්බුවට පසු අල පුපුරල ගිහින් කළු පාට වෙලා තියෙන ස්ථාන දැකගන්න පුළුවන්. අන්න ඒ වගේ කොටස් ආහාරයට ගන්න බෑ. අමුතු කටුක තිත්ත රසක් දැනෙනවා. ඒ තමයි ඒ භූමියේ තිබිච්ච මොනවහරි කළු කිරණ සහිත විසක් උරා ගත්ත කොටස්. ලුණු එකතු කරල තම්බනකොට ඒවායේ විස ගතිය මැරිල යන නිසා, අනෙක් කොටස් එක්ක මිශ්‍ර වුනා කියල ශරීරයට අපත්‍ය නොවුනත් ඒවා ආහාරයට ගන්න බෑ. ඒ නිසා ඒ වගේ කොටස් ඉවත් කරලයි ගන්න ඕන.

ඒ වගේම පුද්ගලයෙකුට යම් කිසි කොඩිවිණයක්, බන්ධනයක් කරල තියේ නම්, ඒ වගේ දෙයක් ඉවත් කරන්න ඒ පුද්ගලයගෙ ශරීරය වටා විවිධ වැල් වර්ග ඔතල, වැල් වළලු කපනව කියල එක්තරා ආකාරයක ශාන්තිකර්මයක් කරනවා. අන්න එතකොට ඔතන්න ගන්න වැල් වර්ගවලට බතල වැලුත් යොදා ගන්නවා.

බතලවල ඖෂධීය වටිනාකම ගත්තොත්, ආහාර ජීර්ණය පහසු කරනවා, සිවි වේළීම දුරු කරන්න උපකාරී වෙනවා, මළබද්ධය දුරු කරනවා. **මළබද්ධය තියෙන අයට බතල දළු කිරි පිටින්ම පලා සම්බෝලයක් ආකාරයට සකස් කරගෙන වැඩි වෙලාවක් තියා ගන්නෙ නැතිව ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ තත්වය දුරු කරගන්න පුළුවන්.** එහෙම නැත්නම් සාමාන්‍ය එළවළු ව්‍යංජනයක් හෝ සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, තෙල් ටිකක් එකතු කරල බැදුමක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්.

**කපු** - ලෝකයේ බොහෝ රටවල වාණිජ වගාවක් වශයෙන් කපු පුළුන් නිෂ්පාදනයත්, කපු ඇටවලින් තෙල් නිෂ්පාදනයත් කරනවා. අපේ රට ගත්තොත් කපු ගහේ ඉතිහාසය බොහෝ ඈතට දිව යනවා. දැනට ලංකාවෙ ඉතා වියළි කලාපවල බහුලවත්, අනෙක් කලාප ගත්තම අධික සීතල දේශගුණයක් නැති ප්‍රදේශවලත් ඉතා හොඳින් වැවෙන සුලභ ශාකයක්. නමුත් අද වෙනකොට කපු ගහ බොහෝ දෙනෙක් හඳුනන්නෙ නැති නිසා වල් ගහක් විදිහට සළකල ප්‍රයෝජනයක් නොගෙනම කපල දානවා.

බහුතරයක් දෙනා දන්නෙ, කපු වගා කරල ඒවායින් නූල් නිෂ්පාදනය කරල රෙදිපිළි සකස් කිරීමත්, වෛද්‍ය කටයුතුවලදි තුවාල ආදිය පිහදාන්න කපු පුළුන් යොදා ගැනීමත් ගැන විතරයි. නමුත් හෙළ වෙදකම තුළදී කපු ගහට සුවිශේෂීය තැනක් හිමි වෙනවා. සර්ම කලාපීය රටවල ජනයාට කපු රෙදි හැරුනම වෙනත් ඇඳුම් සුදුසු නෑ. මොකද අධික උෂ්ණත්වය ශරීරයෙන් පිට කරල ශරීරය සිසිල් කිරීමේ ගුණයක් කපු රෙදිවල තියෙන නිසා. අද වුනත් අළුත උපන් බිළින්දෙකුට කපු ඇඳුම් මිසක් වෙනත් ඇඳුම් අන්දවන්නෙ නෑ. මොකද කොච්චර දහදියක්, උෂ්ණත්වයක් ශරීරයෙන් පිට වුනත්, බිබිලි ආදී චර්ම රෝග හට ගැනීම වැළැක්වීමේ ශක්තියක් කපුවල තියෙන නිසා. භික්ෂූන් වහන්සේලාට පූජා කරන සිවුර සකස් කරල තියෙන්නෙත් බොහෝ කොටම කපු රෙදිවලින්. පාසල් ළමුන් ඇතුළු අධික සූර්ය රශ්මියට නිරාවරණය වෙලා වැඩ කටයුතු කරන අයටත් කපු රෙදිවලින් සකස් කළ ඇඳුමක් භාවිතයෙන් ලැබෙන වෙනස හැමෝටම වගේ අත්දකින්න පුළුවන්. මේ විස්තර කළේ කපු ශාකයෙන් අද වෙනකොට ගන්න ප්‍රයෝජන කිහිපයක් විතරයි. ඊට අමතරව තවත් ප්‍රයෝජන රාශියක් තියෙනවා. කපු ගහ පැළය කාලයේදි ගවයන්, වඳුරන්... ආදී සතුන්ගෙ ප්‍රියතම ආහාරයක්. මල් හට ගන්නකොට පැණි බොන්න එන මී මැස්සන්, කනෙයියන්, දඬුවැල් මැස්සන්, බඹරුන් වගේම කිරි වවුලන්ටත් ආහාර ගබඩාවක්.

කපු ගහේ ඖෂධීය වටිනාකම අතිමහත්. සියලු ස්නායු යථා තත්වයට පත් කරනවා. බාහිරින් ශරීරයට ඇතුල් වෙන බැක්ටීරියා, වෛරස් ආදියෙන් එන ආසාත්මිකතාවයන්ට ප්‍රබල ප්‍රතිජීවකයක් විදිහට ක්‍රියා කරනවා. සියලු චර්ම රෝගවලට අවස්ථානුකූලව යොදා ගන්න පුළුවන් ප්‍රත්‍යක්‍ෂ ඖෂධයක්. **සම මතු පිට හට ගන්නා රතු පාට බිබිලි, ශරීරයට ඔරොත්තු නොදෙන ඇඳුම් ඇඳීම නිසා හට ගන්නා බිබිලි, රතු ලප... ආදියටත් ඒවායින් එන දැවිල්ලටත් ප්‍රත්‍යක්‍ෂ අත් බෙහෙතක් පහතින් සඳහන් කරනවා.**

**කපු කොළ මිටක් අරගෙන, ඒකට කුඩා අමු කහ කැබැල්ලක් එකතු කරල, වතුර නොදා හොඳින් කොටාගෙන මිරිකගෙන එන ඉස්ම ටිකට පිරිසිදු පොල්තෙල් තේ හැන්දක් විතර එකතු කරල කකාරවල චූර්ණයක් විදිහට සකස් කරගෙන අදාළ ස්ථානවල උදේ හවස දින 3 ක් ආලේප කිරීමෙන් ඒ තත්වයන් සුව වෙනවා.**

**ඒ වගේම කැසීම නිසා හට ගන්නා කුඩු හම මතු වෙලා එන ඉස්ම සහිත තුවාලවලට කපු ඇට තෙල් ගැල්වීමෙන් සුව වෙනවා.** කපු ඇට තෙල් බෙහෙත් බඩු වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන්. එහෙම නැත්නම් ගෙදරදි හදාගන්නත් පුළුවන්. වේළිච්ච කපු ඇට කොටාගෙන නටන උණු වතුරෙන් දිය කරගෙන මිරිකල පෙරාගෙන එන ඉස්ම ටික ලිපේ තියල, සම පාකයට හෝ කර පාකයට හෝ බස්සවා ගත්තම වතුර ටික වාෂ්ප වෙලා ගිහින් කාරම යටට බැහැල තෙල් ටික උඩට එනවා. ඒ ටික වෙන් කරගත්තම ඒ තමයි කපු තෙල්. කපු ඇට කිලෝ 1 කින් තෙල් කාලක් හිඳගන්න පුළුවන්.

ඒ වගේම **විවිධාකාරයෙන් පිළිස්සීම නිසා හට ගන්නා තුවාලවලට, මෝරපු නැති කපු ගෙඩියක් කොටාගෙන එන ඉස්ම කෙලින්ම අදාළ ස්ථානවල ගැල්වීමෙන් දියපට්ටා එන්නෙ නැතිව වහා සුව වෙනවා.** හැබැයි මේක පරණ පිළිස්සුම් තුවාලවලට වලංගු නෑ. පැය 24 ක විතර කාලයක් තුල සිද්ධ වූ පිළිස්සුම් තුවාලවලට සුදුසුයි. ඒ වගේම **මෝරපු කපු ඇට කොටාගෙන පිට තියෙන කළු පාට පොත්ත ඉවත් කරල, මැද කොටස වතුර නොදා හොඳින් අඹරගෙන චූර්ණයක් විදිහට සකස් කරගෙන නැමට පැයකට විතර පෙර උඳුගොව්වන් කාපු ස්ථානවල ආලේප කරල**

**දවල් 12.00 ට පෙර නෑමෙන් ඒ තත්වය සුව වෙනවා. දින 7 යි.**

ඒ වගේම රක්තයා හිසට ගැසීම නිසා හට ගන්නා සියලු ශීර්ෂ රෝගවලටත්, පිස්සු ඔල්මාද රෝගීන්ටත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙතක් කපු ගහ මුල් කරගෙන හදා ගන්නා ආකාරය සමාධිමය අත් බෙහෙත් ලිපිය යටතේ පළ කරල තියෙනවා.

ඒ වගේම **කපු කොළ සාමාන්‍ය කොළ කැඳක් ආකාරයට සකස් කරල උදේ හිස්බඩ පානය කිරීමෙන් අම්ල පිත්ත ප්‍රදාහය දුරු වෙනවා. බඩවැල් තුල ඇති තුවාල සුව වෙනවා. අංගුලිකා වටා තියෙන කාරම් ගලවල ඉවත් කරල ආහාර ජීර්ණය පහසු සහ ක්‍රමවත් කරනවා. මළබද්ධය දුරු කරනවා.** කපු කොළ, දළු සාමාන්‍ය පළා සම්බෝලයක්, සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, ළපටි ගෙඩි තුඹ කරවිල උයන ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**දිමි පුහුල්** - මධ්‍යම කඳුකරයේ හැර රටේ ඕනෑම කලාපයක ස්වභාවිකව ඉතා පහසුවෙන් හැදෙන, ළා කොළ පැහැයෙන් යුත් පත්‍ර සහිත, බීජ මගින් පමණක් හට ගන්නා වැල් විශේෂයක්. පත්‍රය තුන් පැත්තට බෙදිල තියෙනවා. අතින් ඇල්ලුවම පුපුරන ස්වභාවයෙන් යුත් ජිල් බෝල තරම් මෙළෙක් ගෙඩි හට ගන්නවා. ඒ ගෙඩි වටා බාහිරින් කෙඳි රාශියක් ගෝලාකාරව ගුලියක් ආකාරයට වටවෙලා තියෙනවා. ගෙඩිය මෝරල ඉදෙනකොට දිමි ගුලිය වගේ තියෙන කෙඳි ගුලිය ඉවත් වෙලා එළියට එන ගෙඩිය හැඩයෙන් පුහුල් ගැටයක් වගේ දිස් වෙනවා. බැලූ බැල්මටම බාහිරින් දිමි ගුලියක් වගේ පෙනෙන නිසා දිමි පුහුල් කියල හඳුන්වනවා. මේ දිමි පුහුල් ගෙඩි ඉදුනම කහ පාටයි. පහසුවෙන් පුපුරන මේවා ඉතා රසවත් නිසා පාසල් ළමුන්ගේ ප්‍රියතම ආහාරයක්. ඒ වගේම වඳුරන්, ලේනුන්, කුරුල්ලන්... ආදී සතුන්ගෙත් ආහාරයක්. සම්පූර්ණයෙන්ම වැල් දොඩම් රසයට සමාන මේවායේ ඇටත් ඒ හා සමාන හැඩයෙන් යුක්තයි.

මධුමේහය තියෙන අයට ඒ තත්වය පාලනය කරගන්න අනර්ඝ ඖෂධයක්. ඉදුනු පසු පළතුරක් වගේම අමුවෙන් ඉතා ගුණදායක එළවළුවක්. අද සමාජයේ බොහෝ දෙනෙක් පීඩා විඳින අධි / අව රුධිර පීඩනය සමනය කිරීමත්, දියවැඩියාව පාලනය කිරීමත්, ඒ වගේම ආහාර ජීර්ණය පහසු කරල මළබද්ධය දුරු කිරීමත්, ස්නායු උත්තේජනයට ලක් කිරීමත් ප්‍රධාන ඖෂධීය ගුණ අතර වෙනවා.

**මේ ගෙඩි ළපටි අවස්ථාවේ, තුඹ කරවිල ව්‍යංජනයක් ආකාරයට සකස් කරගෙන ආහාරයට එකතු කර ගැනීමෙන් සියලු අධි / අව රුධිර පීඩන තත්වයන් යථා තත්වයට පත් කරගන්න පුළුවන්. කොළ පළා සම්බෝලයක් හෝ සාමාන්‍ය කොළ මැල්ලුමක් හෝ සාමාන්‍ය කොළ කැඳක් වශයෙන් හෝ සකස් කරගෙන ආහාරයට එකතු කර ගැනීමෙන් මධුමේහය පාලනය කරගන්න පුළුවන්. ඒ වගේම ඉදුනු ගෙඩි ඇටත් එක්ක පළතුරක් වශයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් මළබද්ධය දුරු කරනවා, ආහාර ජීර්ණය පහසු කරනවා.** ඊට අමතරව ඉදුනු ගෙඩි සම්පූර්ණයෙන් මිරිකල සීනි, ලුණු අවශ්‍ය පමණට එකතු කරල රසවත් පානයක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්. ඉදුනු ගෙඩි අර්ශස්, භගන්දරා රෝගීන්ටත් ඉතා ගුණදායකයි. මොකද මේ ඉදුනු ගෙඩිවල ඇට ජීර්ණය වෙන්නෙ නෑ. ඒවා අනාගත පරපුර බිහි කරල ව්‍යාප්ත කිරීමේ ක්‍රමවේදයක් වශයෙන් ඒ වටා රසවත් එලාවරණයක් ගොඩනැගිල තියෙනවා. **මේ ඉදුනු ගෙඩි අහුරක් පමණ ආහාරයට ගත් පසු පැයක් එකහමාරක් වගේ කාලයක් තුල ඉතා ඉක්මනින් ශරීරයෙන් බැහැර කිරීමට අවශ්‍ය උත්තේජනයක් ඇති කරල වහාම මළපහ කිරීමේ අවශ්‍යතාවය ඇති කරනවා. ඒ මගින් මළබද්ධය දුරු වෙනවා.**

ගෙඩි, කොළ, දඬු, මුල්, මල්, කෙඳි සහිත ගුලිය... ආදිය සම්පූර්ණයෙන්ම වේළල කුඩු කරල තියාගෙන තේ වෙනුවට අතිරේක පානයක් වශයෙන් භාවිතා කිරීමෙන් ස්නායු උත්තේජනය වෙනවා, ශරීරයට ප්‍රබෝධමත් ගතියක් ලැබෙනවා, ඇලි මැලි ගති දුරු වෙලා යනවා. මේ අනුව වර්තමානයේ කවුරුවත් ගණන් ගන්නෙ නැති වුනත්, මේ දිමි පුහුල් කියන්නෙ වසවිස ආහාරවලට එරෙහිව ඉතා පහසුවෙන් හොයාගෙන භාවිතා කරන්න පුළුවන් ඖෂධ ගබඩාවක්.

**ගිරිතිල්ල** - තෙත් / වියළි ඕනෑම කලාපයක ස්වභාවිකව හට ගන්නා, මාබණ්ඩාවලට සමාන, අල්ලක් තරම් විසාලව වැඩෙන කොළ සහිත වැල් විශේෂයක්. කොළය නිවිති කොළ වගේ මාංශමයයි. නාගරිකව ජීවත් වෙන අයටත් ඉතා කුඩා ඉඩ ප්‍රමාණයක වගා කරගන්න පුළුවන්. ගම්බද නම් වැට මායිම්වල, පැලඉනිවැටවල ඉතා සුලභයි. ඒ වගේම ගම් පළාත්වල අදටත් රසවත් ප්‍රියජනක කොළ සම්බෝලයක් වශයෙන් ආහාරයට ගන්නවා. ඊට අමතරව කැඳක් වශයෙන් ආහාරයට ගන්නත් පුළුවන්. හෙළ වෙදකම තුලදී සියලු වාත රෝග සඳහා බොහෝ කොටම උපයෝගී කරගන්නවා. ශරීරයේ කුමන හෝ ස්ථානයක වාතය හිරවෙලා වේදනා ඇතිවෙච්ච අවස්ථාවල ඒ වාතය ශරීරයෙන් වහා පහ කිරීමේ ගුණයෙන් යුක්තයි. ඒ වගේම ආහාර ජීර්ණය පහසු කරනවා. තෙල්, මිරිස්, බැදුම් සහ දිරවන්න අපහසු බර ආහාර ගත්තම ඇතිවෙන බඩ පුරවා දැමීම, බඩ පිපීම සමනය කිරීමත්, දියවැඩියාව පාලනය කිරීමත් ඖෂධීය වටිනාකම් අතර වෙනවා. දියවැඩියාව සුව නොවුනත් රුධිරයට අවශ්‍ය ප්‍රමාණයට වඩා වැඩි සීනි ප්‍රමාණයක් තියේ නම් ක්‍රමවත්ව පාලනය කරනවා.

**කෝවක්කා** - සියලු කලාපවල ස්වභාවිකව වැවෙන, වඳ කරන්න බැරි මට්ටමට ව්‍යාප්ත වන ඉතා වටිනා ඖෂධීය වැල් විශේෂයක්. අද වල් පැළෑටියක් වශයෙන් සළකල උදුරල දැම්මත් ගෙවත්තක තිබිය යුතුම ඖෂධීය ශාකයක්.

අද සමාජයේ බහුතරයක් දෙනා පීඩා විඳින **දියවැඩියාව සමනය කිරීමේ විශේෂ ගුණයෙන් යුක්තයි.** ඒ වගේම ශරීරයේ යම් යම් පද්ධතිවල ස්නායු දුර්වල වෙලා තියේ නම් ඒවා ශක්තිමත් කිරීමේ ගුණයත්, සියලු සන්ධිගත රෝග සුව කිරීමේ ගුණයත් නිසා හෙළ වෙදකම තුල විශේෂයෙන් යොදා ගන්නවා.

අද වෙනකොට ආහාරයට යොදා ගන්නේ කෝවක්කා කොළ විතරක් වුනත්, **පහුරු ඇතුළු කෝවක්කා වැලේ සියලු ළපටි කොටස් ආහාරයට එකතු කර ගැනීමෙන් සන්ධිගත ආසාදන වර්ධනය නොවීමටත්, එවැනි ආසාදන අලුතින් හට නොගැනීමටත් උපකාරී වෙනවා.** දියවැඩියාව තියෙන අය සාමාන්‍ය පළා සම්බෝලයක් වශයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් නියම ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. ඒ වගේම පිටියුටරි ග්‍රන්ථියේ අකර්මණ්‍යතාවය නිසා හට ගන්නා මධුමේහය නොහොත් දියවැඩියාව සඳහා මේ කෝවක්කා, දිමි පුහුල් සහ තවත් අමුද්‍රව්‍ය ඇසුරෙන් සකස් කර ගන්නා ප්‍රභල ප්‍රත්‍යක්ෂ බෙහෙතක් සමාධිමය අත් බෙහෙත් ලිපිය යටතේ පළ කරල තියෙනවා. කෝවක්කා පහුරු, ළපටි කොළ, දළු, දඬු සාමාන්‍ය කැඳක් ආකාරයට හෝ පළා ව්‍යංජනයක්, මැල්ලුමක් වශයෙන් හෝ ආහාරයට එකතු කර ගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# වකුගඩු ආබාධ

## ඇතුළු තවත් රෝග රැසකට සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාරමහතෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගයට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප පහෙන් (88, 89, 90, 91, 92) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු ආබාධ ඇතුළු තවත් ප්‍රබල රෝග රැසකට ප්‍රත්‍ය වෙන, උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ වගේ ප්‍රබල රෝගවලට කර්ම විපාකත් මුල් වෙන නිසා ඒවාට බෙහෙත් කරන්න පෙර, ඒ කර්ම වේග යම් පමණකට හෝ ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට අනන්ත සසරෙ පටන් තෙරුවන් ඇතුළු ගුණ වඩපු උත්තමයින්ටත්, අන්‍ය සත්වයින්ටත් වෙච්ච අවැඩ අසාධාරණවලට විපාක විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දැනටත් පසළොස්වක, අමාවක පොහොය දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාවත්, හැම මාසයකම 1 වෙනි සහ 3 වෙනි සෙනසුරාදා දිනවල විශේෂ ආශිර්වාද පූජාව සහ විශේෂ පුණ්‍යානුමෝදනාවත් සිද්ධ කෙරෙන නිසා, ඒවාට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ ආකාරයේ **විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න.** ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍ය ප්‍රමාණයන් එක්තරා අනුපාතයකට සඳහන් කරල තියෙන නිසා, තමන්ට අවශ්‍ය පරිදි ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදීමත්, ඒ වගේම ඒ බෙහෙත් හදන අවස්ථාවලදීත්, මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරපු දැහැමි ක්‍රමවේද සහ ඖෂධ ශක්තිය උපරිමයෙන් ලබා ගන්න පුළුවන් විශේෂ ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. පින්වතුන්ගේ පහසුව පිණිස මේ ප්‍රබල බෙහෙත් වර්ග කිහිපයක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

### ජීර්ණ පද්ධතියේ ආබාධ, වකුගඩු ආබාධ, අත් පා තුනටියේ වේදනා, අම්ල පිත්ත ප්‍රදාහය සඳහා ඇත්තෝර පැණිය

අවශ්‍ය අමුද්‍රව්‍ය : අක්කපාන කොළ ඉස්ම බෝතල් 1/2 යි, දියතිප්පිලි ඉස්ම බෝතල් 1/2 යි, ඇත්තෝර කොළ ඉස්ම බෝතල් 1 යි, ලුණුවිල ඉස්ම බෝතල් 1/2 යි (මේ සියල්ලම වතුර නොදා සකස් කරගත යුතුයි.), තල් සූකිරි ග්‍රෑම් 1,250 යි, අමුක්කරා (අමු) ග්‍රෑම් 400 යි, පිරිසිදු වතුර මිලි ලීටර 400 යි.

අමුක්කරා ග්‍රෑම් 400 කොටාගෙන වතුර මිලි ලීටර 400 න් මිරිකගෙන ඉස්ම ටික පෙරාගන්න. ඉන්පසු මේ ඉස්ම වර්ග සියල්ලම සහ තල් සූකිරි එකට

එකතු කරල ලිපේ තියල සෙල්සියස් අංශක 75 ක විතර උෂ්ණත්වයේ කාල් ගගා පැණි පදමට බස්සවා ගන්න. භාජනයට හැන්ද දමා ඇද්ද ගමන් අඩියක් විතර උසට කැඩෙන්නෙ නැතිව තනි නූලක් වගේ හිටින්න එනව නම් ඒ තමයි පැණි පදම. සාමාන්‍යයෙන් ලිපේ තියල පැය 3 1/2 කින් විතර ඒ පදම එනවා.

ලිපේ තියන භාජනය අමුද්‍රව්‍ය සමග ප්‍රතික්‍රියා නොකරන තඹ, පිත්තල, සුදු යකඩ හෝ මැටි භාජනයක් වීම වඩාත් සුදුසුයි. ඒ වගේම ලිප දල්වන්න රන් තැඹිලි දර සහ කුරුඳු දර ගන්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද එතකොට නෙළුම් මලේ ප්‍රමාණයට අදාළ උෂ්ණත්වය එන විදිහට ගින්දර පාලනය කරගන්න පහසුයි. ඒවා හොයා ගන්න අපහසු නම් සාමාන්‍ය පොල් ගහක දර (පොල් කොළ, ලෙලි, කටු, හනසු...) වුනත් ගැටළුවක් නෑ. නමුත් එතකොට එන ගින්දර සැර නිසා හැමතිස්සෙම සෝදිසියෙන් ඉඳල ගින්දර පාලනය කළ යුතුයි. ඖෂධ ශක්තිය සඳහා මේ දරවලින් එන අළුත් එක්තරා මට්ටමකට මිශ්‍ර වීම යෝග්‍ය නිසා වායු ලිප් භාවිතා කිරීමෙන් ඖෂධ ශක්තිය එක්තරා මට්ටමකට හීන වෙනවා. ඒ නිසා හැම විටම දර ලිප් භාවිතා කරන්න පුළුවන්නම් වඩා හොඳයි. නමුත් ප්‍රායෝගිකවත්, අවස්ථානුකූලවත් දර ලිප් භාවිතා කරන්න අපහසු පින්වතුන් ඉන්නව නම්, විදුලි බලයෙන් ක්‍රියා කරන ලිපකට උෂ්ණත්ව පාලකයක් සම්බන්ධ කරල ගින්දර පහසුවෙන් පාලනය කරගන්න පුළුවන්.

දැන් මේ විදිහට හදාගත්ත පැණිය උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු තේ හැන්ද බැගින් සති 3 - මාස 1 1/2 ක් දක්වා ගන්න.

මේ මගින් බඩවැලේ, ආමාශයේ සහ ජීර්ණ පද්ධතියේ හිර වෙලා තියෙන සියලු විස, සෙම්, කාරම් ගැලවිලා මළ සමග පිටවෙලා ජීර්ණ පද්ධතිය යථා තත්වයට පත්වෙනවා. අර්ශස්, භගන්දරා ඇතුළු මළ පද්ධතිය ආශ්‍රිත සියලු රෝග සුව වෙනවා. රුධිරගත සනීභවන අපද්‍රව්‍ය මළ සමග පිටවෙලා ගිහින් ක්‍රියැටිනින් අඩු වෙලා රුධිරය සුද්ධ වෙනවා. වකුගඩු ආබාධ සුව වෙනවා. තුනටියේ වේදනා, කකුල්වල වේදනා, අම්ල පිත්ත ප්‍රදාහය සුව වෙනවා.

**<u>රක්ත විස නිසා හට ගන්නා සියලු ශීර්ෂ රෝග, පිස්සු ඔල්මාදය, වලිප්පුව සඳහා</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : කපු ගහේ පස් පංගුව (මුල්, පොතු, කොළ, ඇට මෝරපු ගෙඩි, පරාගණය වන මට්ටමේ මල්) එක වර්ගයකින් කලං 6 බැගින්, එල නිටොල්, කර මුල්, ගජ තිප්පිලි කලං 6 බැගින්, ජොර කොස් ගැට කලං 12 යි (ජොර කොස් නැත්නම් මල් වැරූ මට්ටමේ රේණු සහිත වරක ගැටවල පහටියා පළුව ගන්න). මල්, මුල්, කටු සහිත දිගට ඇදුනු සාමාන්‍ය නිදිකුම්බා සහමුලින් කලං 6 යි.

(ජොර කොස් කියන්නෙ වැල වරකා දෙකටම නැති, මදුළු හැදෙන්නෙ නැති, සාමාන්‍යයෙන් පොළොස් ගැට මට්ටමට වඩා විසාල නොවන ගෙඩි රාශියක් හැදෙන කොස් වර්ගයක්. ගහ පුරාම අතු පතර කුඩා ගෙඩි රාශියක් දකින්න පුළුවන්. මේවායේ කොස් ඇටත් නෑ. රේණුයි වහල්ලයි ලෙල්ලයි විතරයි තියෙන්නෙ. මේ ලක්ෂණවලින් තමයි ජොර කොස් හඳුන ගන්න වෙන්නෙ. මේවා ඖෂධ සහ පොළොස් ගැට ව්‍යංජන සඳහා යොදා ගන්න පුළුවන්).

මේ සියල්ල **හොඳින් වේළගෙන කුඩු කරගෙන** එකකින් කලං 6 බැගින් (ජොර කොස්වලින් විතරක් කලං 12 බැගින්) අරගෙන, පොල් ගෙඩි 3 ක පළමු කිරෙන් වතුර ලීටර 3 ක් එකතු කරල පැයක් විතර සියල්ලම තම්බගෙන මිරිකගෙන එයින් මිලි ලීටර 750 ක් විතර ගන්න. ඒක කොටස් 3 කට බෙදාගෙන එක කොටසක් උදේ 7.00 ට විතර රෝගියාගේ හිසට හිස කුඩිච්චියක් විදිහට දමා 9.00 ට විතර නාවලා හිස හොඳින් වේළුනාට පසු කපු තෙල් ගල්වන්න. තෙල් ගල්වනකොට එක වතාවකින් නැතිව දෙවතාවකින් බෝතලයෙන් අතට තෙල් අරගෙන හිසට තෙල් ගල්වන්න. ඒ කියන්නෙ දෙපාරක් තෙල් අතට අරගෙන දෙපාරක් හිසේ ගල්වන්න. ඒ මගින් හැදෙන කිරණ ශක්තිය එක්තරා ආකාරයක රැකවරණයක් විදිහට පිහිටනවා. ඉතිරි කොටස් 2 ත් දින 2 ක් හිස කුඩිච්චි විදිහට ගල්වන්න. තවත් දින 4 ක් කපු තෙල් විතරක් ගල්වන්න. ඒ කියන්නෙ දින හතේම උදේ 9.00 ට විතර නාවලා හොඳින් වේළුනාට පසු කපු තෙල් ගල්වන්න. මේ මගින් රක්ත උෂ්ණය නිසා හට ගන්නා ශීර්ෂ රෝග සහ පිස්සු ඔල්මාදයට අමතරව වලිප්පුවත් සුව වෙනවා. (කපු තෙල් බෙහෙත් බඩු වෙළඳසැලකින් මිලදී ගන්න පුළුවන්. එහෙම නැත්නම් මේ සඟරාවෙ "වස විස ආහාරවලට එරෙහි විකල්ප" නම් ලිපියේ පළ කරල තියෙන කපු ශාකයේ විග්‍රහය යටතේ කපු තෙල් ගෙදරදි හදා ගන්න හැටි සඳහන් කරල තියෙනවා).

පළමු දින හිස කුඩිච්චිය දැමීමෙන් පසු ඉතිරිය ශීතකරණයක තියල පාවිච්චි කරන්න ගන්න. මොකද බාහිර උෂ්ණත්වයට අහුවුනොත් ගුණය වෙනස් වෙන්න පුළුවන්. නැවත ගල්වන්න පැය 3 කට විතර කලින් ශීතකරණයෙන් එළියට ගත්ත නම් සාමාන්‍ය උෂ්ණත්වයට පත් වෙනවා.

මේ බෙහෙත හදා ගන්නකොට කුරුඳු දර සහ රන් තැඹිලි ගහේ පොල් පිති, හනසු, බූමටලු, පොල්කොළ... ආදියෙන් ලිප පත්තු කරල, නෙළුම් මලේ පමණට ගින්න ඇතිවෙන විදිහට හිඳගන්න. රන් තැඹිලි දර හොයාගන්න නැත්නම්, මොනවහරි වර්ගයක පොල් ගහක හෝ වෙනත් වර්ගයක තැඹිලි ගහක මේ අමුද්‍රව්‍යම ගන්න. හැබැයි එතකොට ගින්දර හුගක් පාලනය කළ යුතුයි. ඒ වගේම අඟහරුවාදා, සිකුරාදා දිනවල බෙහෙත් හැදීමෙන් වළකින්න. අනෙක් දවස් ගත්තත් පුර පක්ෂයට අයත් දවසක විතරක් බේත හදන්න. ඒ වගේම බෙහෙත් හදන තැන වහලක් නැති එළිමහන් තැනක් විය යුතුයි. මොකද සූර්යාලෝකය අවශ්‍ය නිසා.

**<u>පිටියුටරි ග්‍රන්ථියේ අකර්මණ්‍යතාව හේතුවෙන් හට ගන්නා දියවැඩියාව සඳහා</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : දිම් පුහුල් ඇට වියළා කුඩු කලං 6 යි, කෝවක්කා පහුරු සහ පුරුක්වලින් වියළි කුඩු කලං 6 යි, වියළි නෙල්ලි කුඩු කලං 6 යි, වියළි සුදු හඳුන් කුඩු කලං 6 යි, වියළි කිරාතා කුඩු කලං 6 යි, වරක ගහේ මුදුන් මුලේ පොත්ත ඉවත් කරල මාංශමය කොටස කොටාගෙන වතුර නොදා මිරිකගෙන ඉස්ම බෝතල් 1 යි (මි. ලි. 750). වරක මුලක් ගන්නකොට වැටිච්ච ගහක හෝ කපන්න තියෙන ගහකින් ගන්න. එහෙම නැත්නම් ගහට හානියක් නොවෙන්න, ගහට ආසන්නයේ පොළව පැත්තකින් අඩි 3 ක් විතර හාරල හරහට අත දමල මුදුන් මුලෙන් කෑල්ලක් කපා ගන්න.

මේ සියල්ල එකට කකාරවල ගුලි පදමට ආවට පසු කෝපි ගෙඩි තරමට ගුලි කරගන්න. කෑමට පෙර දවසට තුන් වරක් ගුලිය බැගින් දින 28 යි. රුධිරගත සීනි පරීක්ෂාවකින් පසු අවශ්‍ය නම් තවත් දින 28 ක් උදේ හවස 1 බැගින් ගන්න. වෙනත් ඕනෑම ඖෂධයක් භාවිතා කරන අතරතුරත් පාවිච්චි කරන්න පුළුවන්.

සැ. යු. :- බෙහෙත් සාදා ගැනීමේදී කිසි විටෙකත් යකඩ උපකරණ (පිහි, භාජන...) භාවිතා නොකරන්න. ලී,

සුදු යකඩ, තඹ, පිත්තල, මැටි උපකරණ විතරක් භාවිතා කරන්න.

**ගල් තැලුම් සහ විවිධ තැලීම් නිසා සම තුළ හට ගන්නා ඝන වූ ගෙඩි සඳහා**

පුවක් ගෙඩියක පමණ තරම් ප්‍රමාණයට, ආහාරයට ගන්නා අමු කහ කැබැල්ලක් අරගෙන හොඳින් හෝදල පිට පොත්තත් එක්ක හොඳින් අඹරගන්න. ඒ ටික පිරිසිදු කපු රෙදි කැබැල්ලකට දමා පහන් තිරයක් අඹරන ආකාරයට අඹරගෙන පිරිසිදු පොල්තෙල්වලින් හොඳින් පොඟවල පත්තු කරන්න. ඒ තිරය පහතට හරවල ගල් තැලුම හෝ රෝගී ස්ථානයට පහන් තිරයෙන් වැක්කෙරෙන තෙල් බිංදු 3 ක් දමන්න. මේ විදිහට දින 5 ක් හෝ ඊට වැඩි ගණනක් රාත්‍රී නින්දට පෙර කරන්න. නිට්ටාවට සුව වෙනවා.

**ලේ දූෂ්‍ය වීම නිසා හට ගන්නා චර්ම රෝග සඳහා**

ඉර උදාවෙන් පැයක් ඇතුලත ඕනෑම වර්ගයක වට්ටක්කා වැලක් ළඟට ගිහින් රෝගියා විසින්ම වට්ටක්කා කරටියක් අතින් කඩාගෙන අතින්ම පොඩි කරල අදාළ ස්ථානවල ආලේප කරන්න. විනාඩි 40 ක් හෝ ඊට වැඩි කාලයක් තියෙන්න හරින්න. පණු බෙහෙත් බීම ප්‍රමාද වීම නිසා සමහරුන්ට වැළඳෙන අළුහම් ආදියටත් මේ බේත විශේෂයි.

**හොරි, දද ඇතුළු උදුගොව්වන්... ආදී කෘමි සතුන් මගින් හට ගන්නා සියලු චර්ම රෝගවලට (උදුගොව්වන් කෑම ඇතුළු), ළමයින්ට ඇතිවන කිරි පණුගායට**

කුරුම්ණියන් කා දමා ඉවත වැටුනු පොල් හෝ තැඹිලි ගොක් අත්තක් අරගෙන පුච්චන්න පුළුවන් මට්ටමට වේළගෙන ඉන්පසු පුච්චා ගන්න. ඒ එන අළු පෙනේරයකින් හලාගෙන ඒකට අසමෝදගම් ස්ප්‍රීත්තු ටිකක් එකතු කරල අනාගෙන එයින් කොටසක් අරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කිහිපයක් හදාගන්න. ඉතිරි අළු ටිකට අසමෝදගම් ස්ප්‍රීත්තු එකතු කරල ද්‍රාවණයක් වශයෙන් ගාන්න පුළුවන් විදිහට හදා ගන්න.

ළමයින්ට නම් කෑමට පෙර ගුලි 1 බැගින් දවසට 3 වතාවක් දින 3 ක් දෙන්න. වැඩිහිටියන්ට ගුලි 2 බැගින් දවසට 3 වතාවක් දින 3 ක් දෙන්න. හොරි, දද, උදුගොව්වන් කෑ ස්ථානවල උදේ හවස දින 7 ක් ද්‍රාවණය ගල්වල විනාඩි 40 ක් හෝ ඊට වැඩි කාලයක් තියෙන්න හරින්න. නිට්ටාවට සුව වෙනවා.

(සැ. යු. : හලා ගත්ත අළු ටික බෝතලයකට දමා එදා දවසට ගල්වන ද්‍රාවණ ප්‍රමාණය එදාම හදාගන්න. මොකද නැත්නම් ද්‍රාවණය පැය 12 කට වඩා වාතයට නිරාවරණය වුනාට පසු ගුණය හීන වෙනවා.)

**උෂ්ණාධික ආහාර ගැනීම නිසා හට ගන්නා ඇස් දැවිල්ල, දිව කට පැලීම, ශරීරය තුල ඇතිවන දැවිල්ල, මුත්‍රා දැවිල්ල ආදී සියලු දාහයන්ට**

ලොඳ නැති තැඹිලි ගෙඩියක් (ලුණු ඇට්ටියක්) අරගෙන ඒකට පිරිසිදු සුදු හඳුන් කුඩු මේස හැන්දක් එකතු කරල ඇස්ස වහල පැය 2 ක් පමණ එළිමහනෙ තියල පෙරන්නෙ නැතිව පානය කරන්න. දවසට දෙවරක් දින 3 යි. උදේ හිස්බඩ සහ හැන්දෑවෙ කෑමට පෙර ගන්න පුළුවන් නම් වඩා හොඳයි. එක වරකට එක තැඹිලි ගෙඩියක් සහ සඳුන් කුඩු අවශ්‍යයි. උදේ හවස වෙන වෙනම සකස් කර ගත යුතුයි.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 93 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ පරලෝ සැපත් ජී. පී. වීරසේන පතිරණ මහතා - නාවාන, මීරිගම ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දූදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,900/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 23,825/- ■ කෝසල ජයතිලක මහතා සහ වින්දයා රත්නායක මහත්මිය - ඇමරිකාව - රු. 20,750/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ සුජාතා සිල් මාතාව සහ වලස්මුල්ලේ ධම්මවිනීතා සිල් මාතාව - නුවර - රු. 19,100/- ■ සමන්ත දියෝගබඩු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඩු පුතා, ඩිලාරා දියෝගබඩු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 11,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,850/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - බොරැල්ල - රු. 8,750/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ ලක්මිණි වන්නිනායක මහත්මිය - බොරලැස්ගමුව - රු. 5,000/- ■ ලලිත් වසන්ත කුමාර මහතා - ටොරින්ටන් - රු. 5,000/- ■ ආර්. රණතුංග මහත්මිය ඇතුළු

පිරිස - නුගේගොඩ - රු. 5,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල, සුනෙත් ධර්මවර්ධන මහතා - දෙල්ගොඩ - රු. 4,500/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,450/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,450/- ■ රවී අමුණුගම මහතා සහ හේමාලි අමුණුගම මහත්මිය - ඇමරිකාව - රු. 4,450/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,550/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ බී. ඒ. වීරසේන මහතා, සෙනරත් බස්නායක මහතා, අනුරිකා වීරසේන මහත්මිය, හසිත කසුන් බස්නායක පුතා, ජනුධ කුසල් බස්නායක පුතා - යක්කල - රු. 3,000/- ■ වෛද්‍ය සංජීව මලින්ද මහතා, වෛද්‍ය ඉසුරු ගනේආරච්චි මහත්මිය, දහම්යා විදුසිනී දුව - කිරිබත්ගොඩ - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - ඔස්ට්‍රේලියාව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොළ මහතා - ඇමරිකාව - රු. 2,500/- ■ කසුන් ජයකොඩි මහතා - දෙඩම්ගොඩ - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මෙනවිය - හේනෙගම - රු. 2,000/- ■ කරුණාවතී රාජපක්ෂ මහත්මිය ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 2,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 2,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 2,000/- ■ ඉරේෂා ඇන්ඩෘ මහත්මිය, සරත් චන්ද්‍රසිරි ඇන්ඩෘ මහතා, ප්‍රණීෂා නයෝමි දුව සහ සුමුදු ඉෂාර පුතා - හෝමාගම - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,500/- ■ විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි කුමාරි බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,500/- ■ නිලංග කුලවංශ මහතා - මීරිගම - රු. 1,250/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුළපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ චන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා ඇතුළු පවුලේ සැම - වෙලගෙදර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ කුසුමා මැණිකේ වීරකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ ඒ. ඒ. වින්ද්‍යා නිර්මාණී දුව - රදවාන - රු. 1,000/- ■ එල්. ඒ. වී. චන්ද්‍රසීලි මහත්මිය ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ස්වර්ණලංකා අමරසිංහ මහත්මිය - අත්තනගල්ල - රු. 1,000/- ■ කේ. ඒ. මල්ලිකා මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ චන්ද්‍රපාලි දිසානායක මහත්මිය - ගිරිඋල්ල - රු. 1,000/- ■ පී. වී. සමන් ප්‍රියංක මහතා - වග - රු. 1,000/- ■ සක්විති ජයවර්ධන මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ■ කුසුම් තිලකරත්න මහත්මිය - හොරණ - රු. 1,000/- ■ යූ. එච්. ලාල් ලලිත් මහතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ සී. ඩබ්. ලක්ෂ්මන් මහතා - මරඳගහමුල - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රසේන මහතා - වරපලාන - රු. 1,000/- ■ ජී. ඒ. ආරියතිලක මහතා - රු. 1,000/- ■ එම්. පී. විජේතුංග මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 1,000/- ■ රුෂිත් සනුදික පුතා ඇතුළු පවුලේ සැම - කිරිල්ලවල - රු. 1,000/- ■ එච්. ඒ. සුගතදාස මහතා ඇතුළු පවුලේ සැම - පිටිපන - රු. 1,000/- ■ ගාමිණී තිලකරත්න මහතා - යක්කල - රු. 1,000/- ■ නිරෝධා ධනංජනී මෙනවිය - දියතලාව - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ විශාඛා ඇටිපොළ මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ ආර්. ඒ. එරන්දතී සඳසීලි මහත්මිය - කත්තොට - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, කරුණා මහවත්ත මහත්මිය - පාදුක්ක, නිමලා ජයන්ති මහත්මිය - බොරලැස්ගමුව, ජේ. එම්. වයි. සම්පත් කුමාර මහතා - නාපාවල, ටී. ආර්. චන්ද්‍රා ජයවර්ධන මහත්මිය - මොරාවත්ත, උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ, සී. දන්තනාරායන මහතා - කොච්චිකඩේ, විශුද්ධා තරුනෙතු මෙනවිය - රදවාන, විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමගම, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ ■ එකතුව - රු. 8,385/-, ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 429,510/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 15,045/- ■ සම්පූර්ණ වියදම - රු. 410,295/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.35/- ඉතිරි ආධාර මුදල් සහ සඟරා අලෙවියෙන් ලැබෙන සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com** **webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්ද්‍රාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# දුසිල්හු අපාගත වෙති...

කහවත දරා ගෙන සසුනට   මුවා   වී
දහමට නිගා දුන් දිවියෙහි   මුලා   වී
මහණවු පෙළක් අය බුදු බණ එපා   වී
මහ සඟ අතර පෙර සිටි බව පෙනේ   වී



අරහත් දදය යනු දෙව් මිනිසුන්   පුදන
ගුණවත් සඟන වෙනුවෙනි පිළිවෙත්   පුරන
බුදු පුත් පිරිස අතරෙහි දුසිරිත්   වඩන
අදටත් සිටිති බොහො දෙන වෙස් ගත්   මහණ

මුගලන් තෙරිඳු අග සව් තනතුර   දරන
විදසුන් වඩති ගිජිකුළු පව්වට   පැමිණ
සැබවින් දකින බිහිසුනු දසුනකි   එදින
මිනිසුන් නොවේ ප්‍රේතයො බව ඇත   හැඳින

සැරසුන මහණ මෙහෙණින් ලෙස පෙනෙන   යුරු
විහිදෙන දැවෙන දිලිසෙන පා සිවුරු   දැරු
වියැලුන ඇට සැකිලි බඳු විය සිරුරු   දිරු
පලදුන බවකි පව්කම් පෙර සසර   කෙරු



මුනිඳුන් හමුව මෙපුවත සැළ කෙරුන   සඳ
නුවණින් පෙනුනි පෙර කළ පව කෙබඳු   වෙද
මහණුන් ලෙස කසුප් බුදු හිමි සසුනෙ   හිඳ
මැනවින් සිල් නොරැකි පිරිසකි නුවණ   මඳ

බුදු හිමි මෙම කරුණ ඇරැඹුව දහම්   දෙසූ
රුදු සිව් අපා දුක බිඳ අම සුවෙන්   මුසූ
නිදුකිනි වසනු හැකි විටදිය කෙළෙස්   නැසූ
හුදු බැති සිතින් මහ සඟ බණ දෙසුම්   ඇසූ



කසා වත වෙළුනු ගෙල යුතු පවිටු   ගති
වසා ගෙන සියලු දුසිරිත් සුදනො   වෙති
අසා දැන අපා දුක් ගැන පමණ   නැති
නසා දමනු පව් නැතහොත් නිරයෙ   යති

මුසා බස් කුමට සිල් ගුණ ඇතැයි   දොඩා
නිසා පවිටු ගති ගෙන දෙයි සිතෙහි   විඩා
නසා කෙළෙස් මල විදසුන් නුවණ   වඩා
වසා දමනු භව දොර බැමි පවුරු   කඩා

(ධම්ම පදය - නිරය වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# නිවන් නොදෙන බණ දෙසන්න බුදුවරු නැත පහළ වුණේ...

බොදුනුවෝ යැයි උදම් අනා ඇතැමුන් ගැටුමකට බසී
බුදු බණ මේ යැයි කියමින් තම මත දිග හරිති රිසී
නිදුකාණන් ලොවට දෙසූ දහමට එය නොමැත නිසී
සිදු වෙද ඉන් සැනසීමක් මෙලොවට පරලොවට කිසී

කෙනෙකුට ඇති අවබෝධය තවකෙකු කෙලෙසද මනින්නෙ
මුනිඳුට මිස අන් කාටද එවැනි නැණ නුවණ තියෙන්නෙ
පමණට නැණ ඇති විදිහට නොවැ දැනමුතුකම ලැබෙන්නෙ
නිවනට මිස ලොව දැනුමට නැත මේ බුදු බණ දෙසන්නෙ

ඇත හිමිකරුවන් ලෙස සමහරු බුදු බණ පවරා ගෙන
නැත එලෙසින් පෙන්වා මුනි රජ කිසි විට දෙසුවේ බණ
පොතපත නොව කළණ වැටයි රැක ගත යුතු නොකඩා දැන
සත වෙත ඉන් නිවෙන දහම ගෙන යයි හිත සැනසී මෙන

කෙනෙක් කිවොත් බුදු බණ යැයි කෙළෙසද ඒ බව දකින්නෙ
යමක් අසුරු කරන විටදි තුන් දොස ඉන් පහව යන්නෙ
අනෙක් කෙනෙකු නොව ඒ බව තම හිතමයි හඳුන ගන්නෙ
සැකක් නැතිව එලෙසට ගත යුතු බව මහ මුනි දෙසන්නෙ

නිවන කියල සමහරු ගිනි දල්වා ගෙන කියන කතා
නුවණ තියෙන අය එලෙසට තෝරා ගත යුතුව ඇතා
සවණ වැකුන විට තුන් දොස පහ වෙනවද සිතිය යුතා
නොවන විටදි නොගනු මැනවි ඒ බුදු බණ ලෙසට සිතා

සැරියුත් මුගලන් පරපුර තවමත් ලොව පැවත එනා
සමවත් ගුණ වඩමින් යන මහ සඟ පෙළ එලෙස වෙනා
එනමුත් නිහඬයි ඒ ගුණ අඬබෙර ලෙස නොමැත දෙනා
නැණවත් සව්වන් ඒ බව අහගෙනවිත් නිවෙති දැනා

මෙතේ බුදුන් දකින්න යැයි කියමින් බණ අහන දනා
නැතේ වගක් තව බොහො කල් දුවන්ට වෙන සසර ගැනා
සිතේ තිබුන පළියට මුනිවරු දකින්න නොහැකි වෙනා
අතේ තියෙන දහම නොගෙන පෙර සසරෙත් එලෙස වුනා

සැණක් ගානෙ මැරෙන සතුන් වැඩිවෙයි ඇස් ඉදිරි පිටම
දිනක් නොමැත මරණය එන දැනුත් හැකිය කියන කොටම
කනක් කුමට නොඅසා මේ බුදු බණ පද ඇහෙන විටම
කුණක් ලෙසට හැඳින තිලොව පැන ගන්නට බලනු හෙටම

නිවන් නොදෙන බණ දෙසන්න බුදුවරු නැත පහළ වුනේ
එවන් දහම පසෙක දමා කවුරුද බොදුනුවෙකු වුනේ
උපන් දවසෙ සිට බොදු යැයි කීවද කෝ වැඩුන ගුණේ
සවන් වැකුනෙ බුදු බණ දැයි විමසිය යුතු නොවෙද අනේ

වැටහී නම් බුදු බණ ඒ හිත එපමණ නිවිය යුතු
කට පාඩම් කළ පළියට වැටහුම නැත ලොවෙහි තතු
හෙට ආවත් මරණය නම් බොදුනුවෙකුට නිවන සතු
කොට වේ ඉන් සසර ගමන පිරිනිවනයි දිනක මතු

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.